සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු.ව. 2559ක් වූ උදුවප් මස (ව්‍යවහාරික වර්ෂ 2016 දෙසැම්බර්)

63 වෙනි කලාපය


තලපිති


සුදුරු


අමු නෙල්ලි


උළුහාල්


සුදු ළූණු


කෝමාරිකා ඉස්ම


නා දළු


මී පැණි


කුඹු ඇඹිල්ල


තල තෙල්


එඬරු තෙල්


මී තෙල්


සුදු ළූණු


රතු ළූණු


හරන්කහ අල


අළු කෙසෙල්බඩ



## මොළය ආශ්‍රිත රෝග රැසකට

## ප්‍රත්‍යක්ෂ වටිනා ඖෂධ කිහිපයක්...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# විරෝචන ජාතකය

බෝසත් කුමරු ඉපදුන බමුණු කුලයක
සෝපත් සිතිනි දැක ඇති සැටිය දිවියක
ජීවත් වීම කම් සැප ගිජුව බොරුවක
සීපත් වුනි තපස එම දිවිය සුවයක

එපරිදි හිමවතට ගොස් තවුසෙකු විලස
අපමණ දුක දරා විඳ සාගිනි පවස
සපයා ගනු පිණිස ලුණු නගරෙට පිවිස
සුපසන් සිතින් යයි රජු දැක බැලූ එදෙස

සොඳවා පැහැද දැක හැඳ සිටි කසා වත
ඇසුවා තපසු වත ගොත රජු යොමා මෙත
කැඳවා උයන් පලු එම සඳ තමා වෙත
දෙසුවා තපසු හට කළ යුතු වතා වත

පුත් කුමරෙකු සිටී රජු හට සැඩ පරුස
සිත් විය තපසු දැකුමට පුතු සහ පිවිස
සත් ගුණ දම් කියා දෙනු මැනවැයි ගිවිස
අත් කර දුනි පුතුට දහමෙහි රස පහස

පැළයක් කොහොඹ පෙන්වා තිබු ඉදිරි පිට
කොළයක් කඩා කනු මැනවැයි පැවසු විට
රසයක් දැනුනි තිත්තයි එය කුමරු හට
මතයක් හැඟුනි මනසට එය කරණ කොට

පොඩි පැළයද මෙසේ නම් ලොකු වන විටදී
වැඩි වෙයි හැඩය සහ රස ගුණ තිබු මුලදී
දැඩි වනු වැඩෙනු තර වෙනු උස යනු නොම දී
එඩි බිඳ දමමි වනසමි නොහරිමි ඉඩ දී

තවුසා එවිට කුමරිඳු අමතයි මෙලෙස
විමසා බලනු ඔබ පොඩි වුව වෙයි පරුස
පවසා සිටිමි මතුවට වැඩි වෙයි එදොස
වනසා දමනු ඇත ඔබවද සෙසු පිරිස

එවදන අසා තපසිඳු කුමරුට පැවසූ
එම දින සිටම වැඩු යහ ගති ගුණ උවසූ
සපැමිණ වියට පිය රජු පරලොව පිවිසූ
දැහැමින කුමරු තෙම රජ සිරි සැප ඉවසූ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා
සිතුවම් - නිවන්ති වීරතුංග

# දන් දීමේ විවිධ ක්‍රමවේද

**පෙළ දහමින් නිවන් මග - 03**



දානයක් දෙනකොට ඒ දන් දෙන අය ගැනත්, දානය පිළියෙල කරන ආකාරය ගැනත් පසුගිය කලාපවලින් බොහෝ කරුණු කාරණා ඉදිරිපත් කළා. ඒ වගේම ඒ දානය දැහැමි දාන වස්තුවක් වෙන හැටිත්, නොවෙන හැටිත් දූන ගත්තා. නමුත් බොහෝ අය මේ දන් දීම බලන්නෙත් ක්‍රියාවාදීව. ක්‍රියාවාදී කියල අදහස් කළේ, බාහිරින් කෙනෙක් කරන දෙයක් දැකල ඒ අනුව පින් පව් තීරණය කරන්න යෑම. බුදු දහමෙ පෙන්වන්නෙ එහෙම ක්‍රියාවාදී දේශනාවක් නෙවෙයි. බුද්ධ දේශනාවෙ තියෙන්නෙ, හේතුවට අනුව ඵලයක් නැගෙන හැටි විස්තර කරන ක්‍රමවේදයක්. කොටින්ම කියනවනම් කෙනෙක්ගෙ සිතිවිලි මුල් කරගෙන නැගෙන කර්ම සහ ඒවායින් නැගෙන විපාක ගැන විග්‍රහ කරන ක්‍රමවේදයක්. චේතනාහං භික්ඛවේ කම්මං වදාමි කියල කිව්වෙ ඒකයි.

කෙනෙක් හොර මැර වංචා කරල ජීවත් වෙනවා. ඒ පුද්ගලයට දානයක් දෙන්නත් හිතෙනවා. දූන් මේ දෙන දානය දැහැමි දානයක් නෙවෙයි. ඒත් ඒ පුද්ගලයට ඒකෙන් හොඳ විපාක ලැබෙන්නෙ නැත්ද? බාහිරින් දැක්ක දේ අනුව නම්, අපෝ මොන පිනක්ද හොරකම් කරලනේ ඒ සල්ලි හෙව්වෙ, ඕකෙන් පින් විපාකයක් එන්නෙ කොහොමද කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. ඉතිං එහෙම තීරණය කළේ හේතුඵලය දැකලද, ක්‍රියාව දැකලද? බුදු දහමට ගලපන්න නම් ඒක දකින්න ඕන හේතුඵලයට අනුව. හොරකම් කළ දේට විපාක ඒ අනුව ලැබෙනවා. දන් දීමේ විපාක ඒ අනුව ලැබෙනවා. මේ කාරණා දෙකක්. දන් දුන්න නිසා බොහෝවිට ඒ පුද්ගලයට ඕන තරම් වස්තු සම්පත් ලැබෙන්න පුළුවන්. නමුත් හොරකම් කළ නිසා ඒ ලැබෙන වස්තු සම්පත් අපතෙ යන්න පුළුවන්, තව කෙනෙක් විනාස කරන්න පුළුවන්, තමන්ට පරිහරණය කරන්න අවස්ථාව නොලැබෙන්න පුළුවන්. ඒ විදිහට තමයි හේතුඵල දකින්න ඕන.

ඉතිං ධර්මයේ සඳහන් වෙනවා, කෙනෙක් ධනය උපයන ආකාරයයි ඒ ධනය යොදවන ආකාරයයි ගැන පැසසුම් හෝ නිගරු ලැබිය හැකි අවස්ථා ගැන. කෙනෙක් අධාර්මිකව ධනය හම්බ කරනවා. ඒ හම්බ කරන්නෙ අසාධාරණව වෙන්න පුළුවන්, හොර මැරකම් කරල වෙන්න පුළුවන්. ඒ පුද්ගලය දන් දෙන්නෙත් නෑ, හැබැයි හොඳට කාල ඇඳල ඉන්නවා. ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කරනවා, ඒ පුද්ගලය කාරණා දෙකකින් නිගරු ලැබිය යුත්තෙක්, ඒ වගේම එක කාරණාවකින් ප්‍රසංසා ලැබිය යුත්තෙක් කියල. නිගරු ලැබිය යුතු කාරණා දෙක තමයි, ඒ ධනය ඉපැයුවේ අසාධාරණයෙන් වීම සහ ඒ ඉපැයූ මුදලින් කිසිම දානයක් නොදීම. නමුත් තමන් හොඳට කාල ඇඳල ඉන්න නිසා ඒක ප්‍රසංසා ලැබිය යුතු දෙයක් හැටියටයි දේශනා කළේ.

තව කෙනෙක් ඉන්නවා, ධනය හොයන්නෙ හොරකම් කරල, එහෙම නැත්නම් මොකක් හරි අසාධාරණ ක්‍රමයකින්. නමුත් ඒ ධනයෙන් දන් දෙනවා, හැබැයි තමන් කාල ඇඳල ඉන්නෙ නෑ. ඉතිං මේ පුද්ගලයත් කාරණා දෙකකින් නිගරු ලැබිය යුත්තෙක්, එක කාරණයකින් ප්‍රසංසා ලැබිය යුත්තෙක් කියල දේශනාවෙ සඳහන් වෙනවා. නිගරු ලැබිය යුතු කාරණා දෙක තමයි, ඔහු ධනය උපයන්නෙ අසාධාරණයෙන් වීම සහ ඒ ධනයෙන් නොකා නොබී ඉදීම. නමුත් දන් දීම ගැන ප්‍රසංසා ලැබිය යුත්තෙක්.

තව කෙනෙක් දැහැමින් හරි හම්බ කරනවා. නමුත් කන්නෙ බොන්නෙ නෑ. ඒ වුනාට දන් දෙනවා. මේ කෙනා ගැන සඳහන් වෙන්නෙ කාරණා දෙකකින් ප්‍රසංසා ලැබිය යුත්තෙක්, එක කාරණාවකින් නිගරු ලැබිය යුත්තෙක් කියල. ප්‍රසංසා ලැබිය යුතු කාරණා දෙක තමයි, දැහැමින් ධනය ඉපයීම සහ දන් දීම. කන්නෙ බොන්නෙ නැති එක තමයි නිගරු ලැබිය යුතු කාරණය.

ඉතිං මේ දන් දීම ගැන පිටින් බලල ක්‍රියාවාදය අනුව තීරණය කළොත් අපි පවක් කළා වෙනවා. මොකද ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා නොකළ දෙයක් දේශනා කළ දෙයක් හැටියට සැලකීම. එතකොට අර හොරකම් කරල දන් දුන්න කෙනාට වඩා පවක් කරගත්ත වෙනවා. කෙනෙක් කිව්වොත්, හොරකම් කරල ගත්ත ධනයෙන් දානයක් දුන්නම ඒක පාපයක් කියල, ඒක බුදු දහමට නොගැලපෙන කාරණයක් වෙනවා. මොකද හොරකම් කිරීම එක කාරණයක්, දන් දීම තව කාරණයක්. කෙනෙක් සංඝයාට දන් දෙන්නෙ බුද්ධ සාසනය කෙරෙහි ඇතිවන චිත්ත ප්‍රසාදයකින්. ඒ චිත්ත ප්‍රසාදයෙන් නැගෙන ශක්තිය සුළුපටු නෑ. ඒක අනන්ත සංසාරයේ ලැබෙන දුලභ අවස්ථාවක්.

දන් හිතෙන්න පුළුවන්, ඇයි එහෙනම් ඒක අදැහැමි දාන වස්තුවක් කිව්වෙ කියල. ඒකට හේතුව තමයි ඒ ධනය උපයපු ආකාරය. ඒ නිසයි අදැහිමි. නමුත් දානය අදැහැමි නෑ. ලැබීම තියෙනවා. නමුත් ලැබෙන එකේ වෙනසක් එන්න පුළුවන්. ලැබුන දේ තියාගන්න බැරි වෙන්න පුළුවන්. ඒක පාවිච්චි කරන්න හිතෙන්නෙ නැති වෙන්න පුළුවන්. නමුත් දානයේ වටිනාකමක් තියෙනවා.

දේවතා සංයුක්තයේ එක්තරා දෙවි කෙනෙක් ඇවිත් ලොව්තුරා බුදුන් වහන්සේගෙන් මෙහෙම ප්‍රශ්නයක් අහනවා.

**දෙවි :** කුමක් දෙන්නේ බලය දෙන්නේ වේද? කුමක් දෙන්නේ වර්ණය දෙන්නේ වේද? කුමක් දෙන්නේ සැපය දෙන්නේ වේද? කුමක් දෙන්නේ ඇස් දෙන්නේ වේද? යමෙක් සියල්ල දෙන්නෙත් වේද, මා විසින් විචාරණ ලද්දෙහි එය වදාළ මැනවි.

**භගවත්හු :** ආහාර දෙන්නේ බලය දෙන්නේ වේ. වස්ත්‍ර දෙන්නේ වර්ණය දෙන්නේ වේ. යාන දෙන්නේ සැප දෙන්නේ වේ. පහන් දෙන්නේ ඇස් දෙන්නේ වේ. යමෙක් ආවාස දේද, හෙතෙමේ සියල්ල දෙන්නේත් වේ. යමෙක් ධර්මානුසාසන කෙරේද, හෙතෙමේ අමෘතය දෙන්නේත් වෙයි. (කිංදද සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය)

ඉතිං මේ දෙවියා ඇහුවෙ හේතුඵල සහිත ප්‍රශ්නයක්. ඒ අනුව කෙනෙකුට බලය ලැබෙන්න නම් දෙන්න ඕන දේ තමයි ආහාර. ඉතින් මේ ආහාරය දුන්නම කොහොමද බලයක් ලැබෙන්නෙ කියල හිතෙන්න පුළුවන්. හේතුවට අනුකූලයි ඵලය. ආහාර නැතිවුනාම කෙනෙකුට කාය ශක්තිය නැතුව යනවා. කිසි දෙයක් කරගන්න බෑ. ක්ලාන්ත කැරකිලි ගති එනවා. ඒක තිරිසන් සතෙක්ගෙ ඉඳන් සසර කෙළවර කරගත්ත මහා උත්තමයෙකුටත් පොදුයි. කය දුර්වල නම් මනසත් හරියට ක්‍රියා කරන්න ශක්තිය නැතුව යනවා. කියන දෙයක් හිතට යන්නෙ නෑ. කරන දේක නිච්චියක් නැතුව යන්න පුළුවන්. එහෙම ක්ලාන්ත කැරකිලි ගති තියෙන කෙනෙකුට මලක් දීල පූජා කරන්න කිව්වොත් නැගිට ගන්නවත් බලයක් නැති වෙන්න පුළුවන්. ඉතිං ඒ පුද්ගලයට මුලින්ම ආහාර ටිකක් දුන්නම ජවයක් ශක්තියක් එනවා. බලයක් නගන්න පුළුවන් ශක්තියක් එනවා. ආහාරවලින් දෙන්නෙ ඒ ශක්තිය, බලය. ඒ දුන්න කෙනා අනුව නැගෙන ශක්තියත් වෙනස්. ලැබෙන බලයත් වෙනස්. පසුගිය කලාපවලින් ඒ ගැන විස්තර කළා. ඒ වගේම, වර්ණය එහෙම නැත්නම් තේජස ලැබෙන්නෙ කොහොමද, සැප ලැබෙන්න කොහොමද කියලත් දැනගන්න ඕන. තමන් දෙන දේ අනුව තමයි ඒක ලැබෙන්නෙ.

මෙතනදි ඒ දෙවියා වැදගත් ප්‍රශ්නයක් අහනවා, කුමක් දුන්නමද ඇස් දුන්නා වෙන්නෙ කියල. ලොව්තුරා බුදුන් වහන්සේගෙ උත්තරය අනුව, අද ඇස් දන් දෙනව කියන කාරණය වැටිල තියෙන තැන දැනගන්න පුළුවන්. ඒ අනුව ආලෝකය දුන්නමයි ඇස් දුන්න වෙන්නෙ. ඒ කාරණය ආලෝකය, පහන්, නැණ නුවණ... ආදී වශයෙන් එක එක ආකාරයෙන් ගන්න පුළුවන්. කෙනෙක් මුලාවෙ වැටිල ඉන්නව නම්, එහෙම නැත්නම් දස අකුසලයෙන් මිරිකිලා ඉන්නව නම්, ඒ පුද්ගලයා ඉන්නෙ අඳුරෙ. ඇස් නොපෙනෙන අන්ධයෙක් වගේ තමයි ඒ වෙලාවට ඉන්නෙ. ඒකෙන් මිදෙන්න උදව් කළාම ඒ අයට ආලෝකයක් දුන්න වෙනවා. ඉතිං එහෙම උදව් කළාම ඒ පුද්ගලයගෙ ඇස් පෑදුව වෙනවා. හරියට ඇස් දෙකක් නැති කෙනෙකුට ඇස් දුන්න වගේ. ලොව්තුරා බුදුන් වහන්සේගෙ බුද්ධ වචනය අනුව නියම ඇස් දන් දීම ඒකයි. ඉතිං ඔය වගේම අදහසක් හිස්, මස්, ලේ දන් දීම ගැනත් ගන්න පුළුවන්.

උන්වහන්සේ අවසානයේ දේශනා කරනවා, ආවාස දුන්නම සියල්ල දුන්නා හා සමානයි කියල. අද පින්වතුන් කරන කුටි ආවාස පූජාව කොච්චර නම් වටිනවද කියල මේකෙන් අදහසක් ගන්න පුළුවන්. ඊළඟට **කෙනෙක් ධර්මානුසාසනාවක් කරනවද, ඒක අමෘතය දුන්නා හා සමානයි කියලත් දේශනා කරනවා. මෙතනදි අමෘතය කියල අදහස් කළේ නිවන් මාර්ගය පාදා දීම. ඊට වඩා උපරිමයක් කෙනෙකුට දෙන්න බෑ. ඒ තමයි උපරිමය. ඒ නිසා තමයි ධර්ම දානය සියලු දානවලට වඩා උසස් කියල දේශනා කළේ.**

ඉතිං සිවුපසය මොන ආකාරයකට දුන්නත් ඒ දුන්න දේ වටිනාකමක් තියෙනවා. නමුත් ඒ දෙන දේ තමන් විසින්ම දිය යුතුයි. ඒ කියන්නෙ සියතින් දෙන්න ඕන. එතකොටයි ලැබීම හරියට භුක්ති විඳින්න පුළුවන් වෙන්නෙ. නමුත් දැනගත යුතු වැදගත් කාරණයක් තියෙනවා. දුන්නම ලැබෙනවා, ඒක ඒකාන්තයි. නමුත් ඒ ලැබුන දෙයින් අපි උද්දාම වෙනව නම්, බලපන් අපිට තියෙන හරිය උඹලට මොනවද තියෙන්නෙ... ආදී වශයෙන් අදහස් ගන්නව නම්, තමන්ට ලැබුන දෙයින් තමන්ම විනාසයක් කරගත්ත වෙනවා. මොනව ලැබුනත් ඒ ලැබුන දේට පොදු ලෝක ධර්මතාවයක් තියෙනවා. එක්කො කැඩෙනවා, බිඳෙනවා, විනාස වෙනවා. එහෙම නැත්නම් කඩනවා, බිඳිනවා, විනාස කරනවා. ඒක ඒකාන්තයෙන්ම උරුම ලක්ෂණයක්. අපි ඒ ලැබුන දේට ඇලෙන තරමට ඊට විරුද්ධව එන දේට ගැටෙනවා. තමන්ට ලැබුන වස්තුවෙන් තමන්ම පිරිහෙන්න පුළුවන්. ඉතිං මේ කාරණය සිහියට අරගෙන ඒ ලැබුන දේ පරිහරණය කිරීම වටිනවා.

ඒ වගේම ඒ ලැබුන දෙයින් තව තවත් දනට පිනට යොමු වෙනව නම්, ඒක සාසනය වෙනුවෙන් යොදවනව නම්, ටිකෙන් ටික නිවන් මාර්ගය පාදගන්නත් උදව්වක් වෙනවා. සාසනය වෙනුවෙන් කරන ඕනම පිනක් වැටෙන්නෙ ප්‍රතිපත්ති පූජාවට. ඒ සඳහා ඕන තරම් උදාහරණ අපදාන පාලිය තුල තියෙනවා. කවදා හෝ උතුම් වූ නිවනින්මයි කෙළවර වෙන්නෙ. ඒ නිසා යම් කිසි අවස්ථාවක තමන්ට පුළුවන් ආකාරයට, සාසනය තියෙන කාලයක සාසනය වෙනුවෙන් අබ ඇටයක් හෝ දෙන්න පුළුවන් නම්, ඒක මහත් ඵල මහානිසංස වූ නිවනම පූර්ණ කරන්න මූලික පියවරක් වෙනවා. ඒ තියපු පියවර කවදහරි කෙළවර වෙන්නෙ නිවන පූර්ණ කරලමයි. ඒකෙ දෙකක් නෑ.

එතකොට මේ දන් දෙන ක්‍රම එක එක ආකාරයෙන් තියෙනවා. තමන්ම ඉදිරිපත් වෙලා දීමෙන්, ඒ වගේම වෙන කෙනෙක්ගෙ දානයකට උදව් උපකාර කිරීමෙන් ඒක කරන්න පුළුවන්. අඩුම තරමෙ කෙනෙක් දන් දෙනකොට ඊට විරුද්ධ නොවී නිහඬව ඉන්න එකත් වටිනවා. මොකද ඒ නිසා දානයට සහසම්බන්ධ වන අනෙක් අයගෙ චිත්ත ප්‍රසාදයටත් බාධාවක් එන්නෙ නෑ.

තවත් දන් දෙන අති දුර්ලභ ක්‍රමයක් තමයි මනෝමය වශයෙන් දානයක් දීම. **තමන් සතුව කිසිම දෙයක් නොතිබුනත්, මනසින් හිතල දන් දෙන්න පුළුවන් ක්‍රමයකුත් මේ බුද්ධ සාසනය තුල තියෙනවා.** හැබැයි ඒකට කෙනෙකුට මානසික පුරුද්දක් තියෙන්නත් ඕන. දාන වස්තුවක් හිතෙන් මවාගෙන ඒ මවපු දාන වස්තුව නැවතත්, හිතින් මවාගත්ත බුදු කෙනෙකුට හෝ තමන්ට හිතෙන් මවාගන්න පුළුවන් තමන් නිතර දැකල පුරුදු සංඝයා වහන්සේ නමකට හෝ පූජා කරන එකත් මහත්ඵල මහානිසංස ලැබෙන්න හේතුවක් වෙනවා. ටිකක් අමාරු වැඩක් නමුත් සාසනය තුල තියෙන ක්‍රමයක් තමයි ඒ.

අපදාන පාළිය 1, බුද්ධ වර්ගයේ, බුද්ධාපදානයේ මේ ගැන ලොකු විග්‍රහයක් තියෙනවා. ඒ උන්වහන්සේ එක්තරා අත්බැවක මනෝමය වශයෙන් දුන්න දානයක් ගැන. උන්වහන්සේ ඒ දානය දුන්න හැටි පටන් ගන්නෙ මෙහෙමයි.

''ශ්‍රේෂ්ඨ බුදුවරයන් වහන්සේලාගේ සර්වඥතා ඥානයද, ශ්‍රාවක සංඝයා සහිත බුදුවරයන් වහන්සේලාද, බැදඇිලිව නැමැද හිස නමාත් වැන්දෙමි.''

මුලින්ම සියලුම බුදුවරයන්ටත්, උන්වහන්සේලාගේ සර්වඥතා ඥානයටත්, උන්වහන්සේලාගේ ශ්‍රාවකයන්ටත් හිස නමල වැඳල තමයි පටන් ගත්තෙ. ඒක තම තමන්ගෙ ඥානයට අනුව කරන්න පුළුවන් දෙයක්. අඩුම තරමෙ, බුදුන් වහන්සේලා සියල්ල දන්නවා, උන්වහන්සේලා දස අකුසලයෙන් වැළකිලා ඉන්නවා, උන්වහන්සේලා අනුගමනය කරන ශ්‍රාවකයන් වහන්සේලාත් එහෙමයි, මම ඒ ටික දන්නවා, ඒ උත්තමයන්ට මගේ මහා වැඳුම වේවා කියල හිතෙන් හිතල පටන් ගන්න පුළුවන්. ඒක මුල්ම අවස්ථාව. තම තමන්ගෙ නැණ නුවණ අනුව උන්වහන්සේලාගේ ගුණය දකින්න පුළුවන්. ඒකෙන් නැගෙන චිත්ත ප්‍රසාදයේ ප්‍රමාණය කියල නිම කරන්න බෑ. ඉතිං ඒ ටික හිතල, හිතින් අටපිරිකර මවල උන්වහන්සේලාට පූජා වේවා කියල හිතුවත්, ලැබෙන දේ නම් කියල නිම කරන්න බෑ.

ඒ බුද්ධාපදානයේ එන ප්‍රමාණයෙන්ම, ඒ ශක්තියෙන්ම අපිට කරන්න බැරි වුනත්, අපිට පුළුවන් මට්ටමට කළාම ටික ටික ඉදිරියට යනකොට ඒ ශක්තිය නැගී නැගී එනවා. ඒ නිසා සිවුපසයට අදාළ තමන්ට කැමති දෙයක් මව මවා පූජා කරන්න පුළුවන්. මේ බුද්ධාපදානයේ අවසානයේ උන්වහන්සේ මෙහෙම දේශනා කරනවා.

පිරිසිදු සිතින් යම් දානයක් මා විසින් දෙන ලද නම් එහි අනන්ත චේතනාවන්ගෙන් සතුට ඉපිද වීමි. සියලු සම්බුදුවරයෝද පසේ බුදුවරයෝද බුදුසව්වෝද මා විසින් පුදන ලදහ. මැනවින් කළ ඒ පිනින්ද කරන ලද ප්‍රාර්ථනාවන්ගෙන්ද මම මිනිස් සිරුර හැර තව්තිසා දෙව් ලොවට ගියෙමි. දෙව් මිනිස් දෙගතිය දනිමි. එයින් පිටත් අනික් ගතියක් ගැන නොදනිමි. සිතින් කළ පැතුමෙහි මේ ඵලයයි.

ඉතිං මේ මනෝමය දානයත් ලේසි පහසු එකක් නෙවෙයි. තමන්ට පුළු පුළුවන් විදියට, ඉන්න තැන ඉඳගෙ නම දෙන්න පුළුවන් ක්‍රමයක්. ලැබීමේ වෙනසක් නෑ. මහත්ඵලයි මහානිසංසයි. ලොව්තුරා බුදුන් වහන්සේට බුද්ධත්වය කරා එන්න පාර හදපු බුද්ධ සාසනය තුල තියෙන දුර්ලභ ක්‍රමයක්. භාවිතා කරල, බහුලව කරල මහත් ප්‍රතිඵල ගන්න පුළුවන් ක්‍රමයක්. අවසානයේ නිවනින්ම පූර්ණ කරන්න පුළුවන් දෙයක් තමයි සාසනය උදෙසා දෙන දානය කියන්නෙ. කොහොම දුන්නත් අවසාන ප්‍රතිඵලය ඒකයි.

හැබැයි ඉහතින් විස්තර කළ බොහොමයක් දාන සාසනය වෙනුවෙන් දුන්නත් ඒවායින් එන අප්‍රමාණ ලැබීම අයිති වෙන්නෙ ලෝකයට. මනුස්ස සැප සම්පත් ලැබුණත්, දිව්‍ය සැප සම්පත් ලැබුණත්, බ්‍රහ්ම සැප සම්පත් ලැබුණත්, මේ මොනව ලැබුණත් ඒවායේ අවසන් වීමක් තියෙනවා. යමක් ලෝකයට අයිතිද ඒකෙ ගෙවීමක් වැනසීමක් තියෙනවා. උපරිම දේව සම්පත්තිය තියෙන පරිනිම්මිත වසවර්ති කියන දේව තලයේ උප්පත්තිය ලැබුවත් කවදා හෝ ගෙවිල වැනසිලා යනවා.

ඉතින් මේ මොන සම්පත්තියක් ලැබෙන්නත් දන් දෙන්න ඕන, පින් කරන්න ඕන. හැබැයි සුගති උප්පත්තියක් ලබන්න නම් දස අකුසලයෙන් වෙන් වෙලා ඉන්න ඕන. ඊළඟට ඒ දන් දීම හෝ පින් කිරීම නිකං කරන්න බෑ. දැහැමිව උපයන්න ඕන. දැහැමිව උපයන්න නම් මහන්සි වෙන්න ඕන. රැකියාවක් කරන කෙනෙක් නම් ඒ රැකියාවට හැමදාම යන්න ඕන. ගොවිතැන් බත් කරන කෙනෙක් නම් ඒ දේට යොමු වෙන්න ඕන. ඒ වෙහෙස මහන්සිය සතුටක් හෝ සැපක් නෙවෙයි. "මම මේ දුක් මහන්සියෙන් හම්බ කරපු දේවල්" නිතරම කියන කතාවක් තමයි මේ. ඉතින් ඒක ලේසියෙන් පහසුවෙන් ලැබුන දෙයක් නෙවෙයි. එහෙම මහන්සියෙන් හරි හම්බ කරල දෙන දානයෙන් ලැබෙන සම්පත්තිය වුනත් දිගටම තියාගන්න බෑ. ගෙවිල යනවා. ඒවා තියාගන්න හෝ රැකගන්න නැවත නැවතත් මහන්සි වෙන්න ඕන. කෙනෙක් මේවා අරගෙන යයිද, කඩයිද, බිඳියිද... ආදී වශයෙන් නිතරම ඔළුවට ප්‍රශ්න එනවා. ඉතින් ඒ ලැබුන දේ සැනසීමක් කියල හිතුවට, සදාකාලික සැනසීමක් එන දේවල් නෙවෙයි.

කෙනෙකුට හිතෙන්න පුළුවන්, යමක් දුන්නම ලැබෙන දෙයින් සැනසීමක් එනව නම්, ඒ සැනසීම සදාකාලික වෙනවනම්, එහෙම දෙයක් දෙන්න පුළුවන් නම් කොච්චර වටිනවද කියල. එහෙම ක්‍රමයක් බුද්ධ සාසනයේ තියෙනවා. ලොව්තුරා බුදුන් වහන්සේගෙම දේශනාවකට අනුව සියලු දානයන් පරදා යමෙක් ධර්ම දානයක් දෙනව නම් ඒක අග්‍රයි, ශ්‍රේෂ්ඨයි.

"මහණෙනි, මේ දාන දෙකක් වෙත්. කවර දෙකක්ද යත්, සිවුපස දානයද, ධර්ම දානයද යන දෙකයි. මහණෙනි, මේ දෙක වනාහි දානයෝ වෙත්. මහණෙනි, මේ දාන දෙක අතුරින් යම් මේ ධර්ම දානයක් වේද, මෙය අග්‍ර වෙයි. (<u>දාන සූත්‍රය</u> - දාන වග්ගය - දුක නිපාත පාලි - අංගුත්තර නිකාය)

කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ ධර්ම දානය කොහොමද අග්‍ර වෙන්නෙ කියල. දෙන දේ අනුවයි ලැබීම. ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළ ධර්මය අපට එක එක ආකාරයෙන් දෙන්න පුළුවන්. දහම් දේශනා කරන්න හැකියාව තියෙන කෙනෙකුට පුළුවන් ඒ දේශනා ශක්තියෙන් ධර්මය දෙන්න. තව කෙනෙකුට පුළුවන් පොත්පත්වලට ලියන්න. තවත් කෙනෙකුට පුළුවන් ඒ දහම් පොත්පත් බෙදා දෙන්න. මේ සියල්ල අයිති වෙන්නෙ ධර්ම දානයට. ඒවායින් ලැබෙන්නෙ සියලු දුක් කෙළවර අමා මහ නිවන. කෙනෙකුට තිසරණයේ පිහිටන්න උපකාර කරනවද, ඊට ප්‍රතිඋපකාරයක් කරන්නත් ලෝකයේ කිසිම සමතෙක් නෑ. මේ ලිපි පෙළේ මුලින්ම ඒ ගැන සඳහන් කළා. ඉතින් නිවන හැර ලෝ සතුන්ට වෙන සැනසීමක් නෑ. ඒ සැනසීම ලබා දෙන්න කෙනෙක් උදව් උපකාර කළාද, අඩුම තරමේ ඒකට විරුද්ධ නොවී හිටියත් ඒ ටිකම කවදහරි ඒ අයට සියලු දුක කෙළවර කරගන්න උපනිශ්‍රය වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**රිෆ්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**

# කර්මස්ථාන තුළින් නිවන් මග 2



මෙත්තානුස්සතිය වඩන හැටි පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. තවත් විස්තර අවශ්‍ය නම් හෙළ බොදු පියුම 2, 3 කලාපවල දීර්ඝ වශයෙන් විස්තර කරල තියෙනවා.

දැන් ඒ මෙත්තානුස්සතියේ එන සසර දුක, සසර රෝගය පැහැදිලි කළ ධර්ම කාරණා ඇසුරෙන් ගොඩ නැගෙන තවත් කර්මස්ථානයක් තියෙනවා.

මටද හැම දෙනාටද
අවිද්‍යා සංඛාර
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා සංඛාර
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා විඤ්ඤාණ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා විඤ්ඤාණ
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා නාම රූප
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා නාම රූප
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා සළායතන
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා සළායතන
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා ස්පර්ශ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා ස්පර්ශ
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා වේදනා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා වේදනා
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා තණ්හා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා තණ්හා
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා උපාදාන
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා උපාදාන
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා භව
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා භව
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා ජාති
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා ජාති
(නිරෝධ වෙත්වා ///)
අවිද්‍යා ජරා මරණ සෝක පරිදේව
දුක්ඛ දෝමනස්ස උපායාස
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අවිද්‍යා ජරා මරණ සෝක පරිදේව
දුක්ඛ දෝමනස්ස උපායාස
(නිරෝධ වෙත්වා ///)

දැන් මේ ලිපියෙන් බුද්ධානුස්සතිය වඩන කර්මස්ථානයක් විමසල බලමු. බුද්ධ + අනු + උස්ස + සති තමයි බුද්ධානුස්සති කියන්නෙ. බුදුන් වහන්සේලා යම් උසස් තත්වයකට පත් වුනාද, ඒ අනුව සිහියෙන් යුක්තව අපිත් ඒ උසස් තත්වයට පත්වීමට කටයුතු කරනවා කියන අදහස තමයි ඒකෙන් කියවෙන්නෙ. හැබැයි මෙතැනදි උසස් තත්ත්වය කියන්නෙ සම්මා සම්බුද්ධත්වය නෙවෙයි, අරිහත් ඵලයට පත් වෙලා සසර ගමන අවසන් කිරීම. මොකද බුදුන් වහන්සේට අනුව කටයුතු කරගෙන යනකොට ශ්‍රාවකයින්ට ලැබෙන උසස්ම ඵලය තමයි අරිහත්වය.

නමෝ අරහං, නමෝ සම්මා සම්බුද්ධෝ... නමෝ භගවා ති. සබ්බ බුද්ධානුභාවේන සොත්ථි මේ හෝතු සබ්බදා, සබ්බ බුද්ධානුභාවේන සොත්ථි තේ හෝතු සබ්බදා.

මේ කර්මස්ථානයේ නව අරහාදී බුදු ගුණවලට ඉදිරියෙන් නමෝ කියල වචනයක් තියෙනවා. නමෝ කිව්වම අර්ථ දෙකක් තියෙනවා. වන්දනා කරමි, නැමී සිටිමි කියන අර්ථ දෙක තමයි ඒ. ගුණයක් සිහි කරල වඳිනව කියන්නෙ ඒ ගුණයට කරන ගරු බුහුමනක්. ගුණවන්තයෙකුට ගරු බුහුමන් කළාම ඒ අය ආශිර්වාද කරනවා. අපිව වැදූ හැදූ අම්මගෙ ගුණ සිහි කරල වැන්දම, යහපතක්ම වේවා... කියල අම්ම අපට ආශිර්වාද කරනවා. ඒ වගේ බුදු ගුණ සිහි කරල වැන්දම බුද්ධාශිර්වාද ලැබෙනවා. අරහං ගුණය සිහි කරල වැන්දම අරහං ගුණයේ ආශිර්වාදය අපට ලැබෙනවා.

ඒ වගේම නැමී සිටිමි කියන්නෙ, අපිත් ඒ ගුණය වැඩි දියුණු කර ගන්න කටයුතු කරනවා, ඊට නැමෙනවා කියන එක. උදාහරණයක් විදිහට රහසින්වත් පව් නොකළ ගුණය නිසා ලෝකයාට රහසින්වත් වරදක් කරල නෑ. ඒ අනුව අපිත් රහසින්වත් ලෝකයාට වරදක් නොකරන්න උත්සාහ කරන්න ඕන. අනන්ත සංසාරෙ අපි පුරුදු වෙලා ආපු විදිහක් තියෙනවා. මූණට තරහ පෙන්වන්න බැරි කෙනෙක් නම්, හිත යට තරහ තියාගෙන හොඳට කතා කරනවා. තරහ කියන්නෙ ද්වේශයට. ද්වේශය නිසා ☞

ලෝකයාට යහපතක් වෙන්නෙ නෑ. එතකොට අපි රහසින් පවක් කරල. ඒ නිසා මේ වගේ ගුණ වඩන්න ලොකු උත්සාහයක්, වීර්යක් ඕන. කර්ම ඵල ගැන විශ්වාසයක් තියෙන්න ඕන. ඒ වගේ උතුම් ගුණ වඩපු බුදුන් වහන්සේ ගැන මහා ගරුත්වයක් හදවතින්ම මතු වෙන්න ඕන.

මුලදි ගුණ වඩන්න පටන් ගන්නකොට ඒ ගුණවල තේරුම හොඳට දන්නෙ නැති වෙන්න පුළුවන්. හැබැයි ගුණ වැඩෙනකොට තමන්ටම ඒ අත්දැකීම ලැබෙනවා. අත්දැකීම් ලැබෙනකොට පුදුමාකාර සතුටක් දැනෙනවා. අංශු මාත්‍ර ගුණයක් දැකල මේ තරම් සතුටක් දැනෙනව නම්, අරිහතුන් වහන්සේලා කොච්චර නම් සතුටක් ලබනව ඇත්ද? කාටවත් පැහැර ගන්න බැරි, දිරාපත් වෙන්නෙ නැති ඒ සතුට අපිත් උදා කරගන්නයි උත්සාහ කරන්නෙ, වීර්ය වඩන්නෙ කියල ප්‍රීති සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය, ධම්ම විජය සම්බොජ්ජංගය ආදී බොජ්ජංග ධර්ම වැඩෙනවා. සියලු ආකාරයෙන් සම්පූර්ණව මේ ගුණ වැඩෙන්නෙ සම්මා සම්බුදු පියාණන් වහන්සේලාට විතරයි. ශ්‍රාවක පිරිසට ශ්‍රාවක ඥාණයට ගෝචර වන ප්‍රමාණයට ගුණ වැඩෙනවා. මේ සියලුම බුදු ගුණ අනන්තයි. මෙපමණයි කියල සීමා කරන්න බෑ.

මේ බුදු ගුණ කියවෙන වචනවල තේරුම් නිරුක්ති අර්ථයෙන් දැන ගත්තම හොඳට අවබෝධ වෙනවා. අරහං කිව්වම, අර හංගල තියෙන්නෙ. ගහක අරටුව තියෙන්නෙ එළයෙන් පොත්තෙන් වටවෙලා, හැංගිලා. ඒක තමයි වටිනාම දේ. ඒක උපමාවක්. යම්කිසි දෙයක් තෝරා බේරා ගන්න අපහසු වෙලා සැඟවිලා තියේ නම්, අර+හං ගුණය ''නමෝ අරහං'' කියල දිගටම වඩනකොට ප්‍රශ්ණය නිරාකරණය කරගන්න සුදුසු පිළිවෙලක් සකස් වෙලා එනවා. සැඟවිලා තියෙන උසස්ම වටිනාම දේ තමයි සිවු අරිසස් දහම. මේ දහම සැඟවිලා තියෙන නිසා තමයි ලෝක සත්වයා ආත්මාර්ථය උදෙසා දස අකුසල් කරන්න බය නැති වෙලා, දුසිරිතට කොටු වෙලා, සතර අපාය මහ ගෙදර වගේ කරගෙන අනන්ත සසර දුකක් විඳින්නෙ. ඒ නිසා හැම කෙනෙක්ම නමෝ අරහං ගුණය අරගෙන භාවනා කිරීම තමන්ට වැඩ දායකයි.

අ + රහ + අන් කියලත් අරහං ගුණය තෝරන්න පුළුවන්. අන් කියන්නෙ ආහාර. අපි අනන්ත සංසාරෙ රස විඳ විඳ තමයි ආහාර ගන්න පුරුදු වෙලා තියෙන්නෙ. ඒ රස විඳ විඳ ආහාර ගන්න ගතිය අත් හැරියම අරහං වෙනවා. මොකද මෙච්චර දුර සසර ගමනක දුක් වින්දෙ රසයට ගිජු වෙලා රස පොළොව ආහාරයට ගැනීමේ ආරම්භය නිසා. ආහාරයට, අත්හැර ගන්න බැරි ගිජුකමක් තියෙනව නම් ඒ ගතිය දුරු කරගන්න මේ නමෝ අරහං ගුණය වඩන්න පුළුවන්.

සං + භව + උද්ධ තමයි සම්බුද්ධ කියන්නෙ. සම්මා සම්බුද්ධ කියන්නෙ තමා විසින්ම ගොඩනගන ලද භවය තමා විසින්ම උදුරා දැමූ කියන අදහස. සං කියන්නෙ එකතුව, මා කියන්නෙ මිදීම. සං වෙලා, එකතු වෙලා කරදර ඇති කරන දේවල්වලින් මිදෙන්න, සම්මා සම්බුද්ධ ගුණය උපකාරී වෙනවා. **වා පිත් සෙම් රුදිල, ඇස්වහ කටවහ හෝවහ අඬෝවැඩියා හදි හූනියං ආදිය බැඳිල, විවිධ ලෙඩ රෝග කරදර වියවුල් ඇතිවෙලා තියෙනව නම්, ''නමෝ සම්මා සම්බුද්ධෝ'' ගුණය වැඩීම සුදුසුයි.** දිගටම ගුණ වඩනකොට ඒ බැඳීම් කැඩිල යත්දි සමහර වෙලාවට ශරීරයේ වේදනා කැක්කුම් එන්න පුළුවන්. යහපත සැලසෙන්න නම් ඒවාට ප්‍රත්‍ය වන උපක්‍රම යොදාගෙන දිගටම ගුණ වඩන්න ඕන.

**නිතරම නිදිමත ගතිය එනව නම්, වැඩක් කරන්න ගත්තම හිත සංසුන් වෙලා ඒකට යොමු කරගන්න අපහසු වෙනව නම්, වික්ෂිප්ත වෙනව නම්, සිත විසිරිලා යනව නම් ''නමෝ විජ්ජා චරණ සම්පන්නෝ...'' ගුණය වඩන්න.** විජ්ජා කියන්නෙ සිවු අරිසස් දහම. චරණ කියන්නෙ ධර්මතාවයන් හැසිරෙන ආකාරය. අපි එදිනෙදා කරන කියන කටයුතුවලදි, මේක කළොත් මෙහෙම ප්‍රතිඵලයක් එයි කියල හොඳ නරක විපාක මෙනෙහි කරල කටයුතු කරන්න ඕන. එහෙම තෝරා බේරා ගන්න බැරි අපහසුකම් එන වෙලාවල් තියෙනවා. ඒ වගේ වෙලාවට තමයි හිත වික්ෂිප්ත වෙන්නෙ, නොසන්සුන් වෙන්නෙ. ඒ වගේ වෙලාවට මේ ගුණය වඩල යහපත සලසගන්න ඕන.

**ලෞකික බාධා වගේම ආර්ය මාර්ගය වැඩීමටත් බාධා එනකොට ඒවා දුරු කරගන්නත්, මග්ගාමග්ග ඥාණ දස්සන විසුද්ධිය පහළ වෙන්නත් ''නමෝ සුගතෝ'' ගුණය වඩන්න පුළුවන්.**

ලෝකය පිළිබඳවත්, ලෝකයේ ඇති සියලු දේ පිළිබඳවත් මහා විද්‍යාත්මක අවබෝධය ලැබුවා කියන අරුත තමයි ''ලෝක විදූ'' කියන්නෙ. කොටින්ම කියනව නම් ලෝකයේ මොනවද තියෙන්නෙ කියල දැනගන්න ලෝකයට විදල බැලුවා. එදිනෙදා කටයුතු කරන කොට සමහර වෙලාවට ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියල අමතක වෙලා කටයුතු කෙරෙන්න පුළුවන්. මොකද අපි කටයුතු කරන්නෙ ලෝකය සාරයි, වටිනවා කියල ඇඳිලා බැඳිල කටයුතු කරන පිරිසක් එක්ක. ඒ නිසා ලෝකයේ අසාරත්වය මෙනෙහි වෙන්න ''නමෝ ලෝක විදූ'' කියන ගුණය නිතර වඩන්න ඕන.

**දමනය වූ පුරිසයන් අතරින් අග්‍ර වූ බුදු පියාණන් වහන්සේලාගේ, ඒ ''අනුත්තරෝ පුරිස ධම්ම සාරථී'' ගුණය වැඩීමෙන්, ධර්ම මාර්ගය වැඩීමේදී ඇතිවන යම් අමනුස්ස කරදර බාධා ඇත්නම් ඒවා දුරු කරගන්න පුළුවන් වෙනවා.**

සියලු දෙවි මිනිසුන්ට ගුරුවරයා වූ බුද්ධ ගුණයට සත්ථා දේව මනුස්සානං කියල කියනවා. අපට ගුරුවරයා වෙන්නෙ ඒ බුදු පියාණන් වහන්සේලා දේශනා කළ සද්ධර්මය. **ඒ ධර්මය අපට වටහා ගන්න අපහසු නම්, අවබෝධ කරගත් දෙයක් තව කෙනෙකුට පැහැදිලි කරල දෙන්න අපහසු නම් ''නමෝ සත්ථා දේව මනුස්සානං...'' ගුණය වඩන්න.**

මෑත කාලයේ අපට කියවන්න ලැබුන කතා වස්තුවක් තමයි, තායිලන්තයේ වාසය කළ ''සිල්මාතා කායිච්'' කියන උත්තමාවියගේ ජීවිත කතාව. එතුමිය තමන්ගෙ ජීවිතයේ සියලු දුක්ඛ දෝමනස්සයන් දුරුකර ගන්න භාවිතා කරල තිබුණෙ ''බුද්ධෝ'' කියන ගුණය වැඩීම. භව බැමි සියල්ල බිඳ හරින මහා ශක්තියක් බුද්ධෝ ගුණයේ තියෙනවා. ඒ නිසා ''නමෝ බුද්ධෝ...'' කියල දිගටම භාවනා කිරීම සුදුසුයි.

භගවා කියන්නෙ බෙදා බලන පිළිවෙත. එකාකාරව පේන යම් වස්තුවක සැබෑ ස්වරූපය අවබෝධ කරගන්න ඒක කෑලි කෑලිවලට බෙදල වෙන්කරල බලන්න ☞

ඕන. නැවත නැවත ඒ ඒ කොටසුත් බෙද බෙදා බලන්න ඕන. එතකොට විවිධ සංඥා නාමවලින් හඳුන්වන මේ එක්ව පේන රූප, සතර මහා ධාතූන්ගේ විවිධාකාර සකස් වීම් කියල වැටහෙනවා. ඒවා දිර දිරා ගිහින් කවදා හෝ සකස් වීමට මූලික වුන සතර මහා ධාතූන්ටම වෙන් වෙලා යන බවත් වැටහෙනවා. සත්ව වශයෙන් සංඥා ගත්ත ''මම'' කියන්නෙත් මේ වගේ සතර මහා ධාතූන්ගේ සකස් වීමක්. මේ ''මම'' හා බැඳුන විඤ්ඤාණයත් එකක්ව පෙනුනත් ඒකත් කයේ ක්‍රියාකාරිත්වය උදෙසා සකස් වෙච්ච, ඒ ඒ මොහොතේ නැගෙන සිතට අනුව ඒ ඒ මොහොතේ ගොඩ නැගෙන හේතු ඵලයක්.

නාමයක් නැතිව රූපයක් හෝ රූපයක් නැතිව නාමයක් හෝ පවතින්නෙ නෑ කියන ධර්මතාවය නිසා, අලුත් කයක් ගොඩනැගීම නිරුද්ධ කළා නම්, ඒ කයේ ක්‍රියාකාරිත්වයට විඤ්ඤාණයක් ගොඩ නැගෙන්නෙත් නෑ. ආස්වාද විඳීමට ඇති කැමැත්ත හේතුවෙනුයි කයක් ගොඩනැගෙන්නෙ. ආස්වාදයන්ගේ ආදීනව දකල, ආස්වාදයට ඇති ඡන්දරාගය දුරු කළා නම් කයක් ගොඩනැගෙන්නෙ නෑ. මෙන්න මේ කාරණා ටික වැටහෙන්නෙ නැත්නම් ''නමෝ භගවා...'' ගුණය වඩන්න. එතකොට සං+ දිට්ඨික වෙලා, ඒ සං කියන එකතුවෙන් මිදෙන්න ඕන කියන කාරණයත් වැටහිලා සම්මා දිට්ඨියට පත් වෙන්න හේතු යෙදෙනවා.

මේ බුදු ගුණ නවයම අරිහත් ඵලය දක්වා ප්‍රගුණ කරන්න පුළුවන් බලවත් බුද්ධානුස්සති කර්මස්ථාන වෙනවා. මේවා සමථය වඩන්න හෝ පූර්ව කෘත්‍ය වශයෙන් භාවිතා කරන්න හෝ විතරක් නෙවෙයි, විදර්ශනා කර්මස්ථාන හැටියටත් භාවිතා කරන්න පුළුවන්. **නමෝ අරහං... ආදී වශයෙන් වැඩීමෙන් 9 ආකාරයක සමාධි වැඩෙනවා.** ලෞකික, ලෝකෝත්තර ගුණත් වැඩෙනවා. මේ හැම බුදු ගුණයක්ම අනන්තයි. බුදු කෙනෙක් තමන්ගෙ ජීවිත කාලයම වෙනත් දේවල් දේශනා නොකර, මේ එක බුදු ගුණයක පමණක් දේශනා කළත් උන්වහන්සේගෙ ආයු කාලය ඉවර වෙනව මිසක් බුදු ගුණය දේශනා කරල ඉවර කරන්න බෑ කියල දහමෙ සඳහන් වෙනවා. මේ එක එක බුදු ගුණයක් තුළ අනෙක් සූවිසි ගුණ 23 ට අයිති ගුණත් තියෙනවා. ඒ නිසා එක බුදු ගුණයක් වඩන කොට අනෙක් 23 ත් යම් ප්‍රමාණයකට වැඩෙනවා. ඒ ගුණ වැඩීම තුළින් මේ ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න පුළුවන් වගේම විසාල ආරක්ෂාවකුත් සැලසෙනවා.

සෝ භගවා ඉතිපි අරහං
අරහං වත සෝ භගවා
නමෝ තස්ස භගවතෝ අරහතෝ
සම්මා සම්බුද්ධස්ස
සාධූ ! සාධූ ! සාධූ!



නමෝ අරහං... ආදී වශයෙන් කියල අවසානෙදි '' සබ්බ බුද්ධානුභාවේන සදා සොත්ථී භවංතු මේ, සබ්බ බුද්ධානුභාවේන සදා සොත්ථී භවංතු තේ '' කියල තව කොටසක් තියෙනවා. සබ්බ බුද්ධ කිච්චම, මෙතෙක් කල් ලොව පහළ වුන සියලු සම්මා සම්බුදු, පසේ බුදු, ශ්‍රාවක බුදු කියන තුන් කොටසම අයිති වෙනවා. මේ සියලු බුදුවරයන් වහන්සේලාම, ආර්ය මාර්ගය පුරන පිරිසට ආරක්ෂාව සළසන මහා සුද්ධ කිරණ කදම්භයක් විශ්වයට එකතු කරල තියෙනවා. අනුව + භවය ගොඩනගන පිරිසට ආනුභාවය ලැබෙනවා. යම් පිරිසක් අරිහත් බව ලබන්න උත්සාහ කරනව නම්, වීර්ය කරනව නම් ඒ අයට ඒ සුද්ධ කිරණවල ආනුභාවය ලැබෙනවා. සොත්ථී (ස්ව + අත්ථී) මේ හෝතු කියන්නෙ, මට නිවන වේවා කියන එක. සොත්ථී තේ හෝතු කියන්නෙ, ඔබලාටත් ඒ නිවන අත්වේවා කියන එක. ලෞකික හෝ ලෝකෝත්තර යහපත් බලාපොරොත්තු මටත් ලෝවැසි හැම දෙනාටත් අත්වේවා කියන එක තමයි සරල තේරුම.

බුද්ධානුස්සතිය නිවැරදිව වඩන ආකාරය පිළිබඳ සවිස්තර ලිපියක් හෙළ බොදු පියුම මංගල කලාපයේ පළ කරල තියෙනවා. වැඩිදුර කරුණු එතැනින් බලාගන්න පුළුවන්. නිතර භාවිතා කරන තවත් බුද්ධානුස්සති භාවනාවක් තියෙනවා.

මේ විදිහට ගුණ 9 ම වඩනවා. ඒ භාග්‍යවතුන් වහන්සේ රහසින්වත් පවු නොකළ හෙයින්ද, සියලු කෙලෙස් මළ දුරු කළ හෙයින්ද... ආදී වශයෙන් අනන්ත ගුණැති සේක. ඒ භාග්‍යවතුන් වහන්සේ අනුගමනය කළ වත, වැඩ පිළිවෙළද එයමයි. ඒ කිච්චෙ යම්කිසි ගුණයකින් උන්වහන්සේ හඳුන්වනවද, ඒ ගුණයට අනුවමයි වැඩ කරන පිළිවෙලත්. මේකට යථාවාදී - තථාකාරී ගුණය කියලත් කියනවා. සම්බුද්ධස්ස - සං + භව + උද්ධ + අස්ස. අස්ස කියන්නෙ ඇසුරු කරනවා. එතකොට නමෝ තස්ස භගවතෝ අරහතෝ පාඨයේ තේරුම, තමන් විසින්ම ගොඩනගන ලද භවය තමන් විසින්ම උදුරා දමන ලද ඒ ගුණයට, බෙදා බලන වතට මමද නැමී සිටිමි, වන්දනා කරමි, ඒ ගුණය ඇසුරු කරමි, ඒ අවිද්‍යා රහසින් මිදී, භවය උදුරා දමමි කියන එක.

භවය කියන්නෙ උදුරා දමන්න පුළුවන් දෙයක්ද කියල කෙනෙකුට විමතියක් එන්න පුළුවන්. ''තණ්හාය මූලං ඛණථ උසිරත්ථෝව බීරණං...'' කියල ධම්ම පදයේ තණ්හා වග්ගයේ සඳහන් වෙන මේ ගාථා කොටසේ සිංහල තේරුම එන්නෙ මේ විදිහට. ''සුවඳ හොට මුල්වලින් ප්‍රයෝජන ඇති කෙනෙක් මහ උදැල්ලක් අරගෙන බෙරු තණ සාරන්නාක් මෙන් භවයෙහි උපතට කරුණු වන, සදොර උපදනා තෘෂ්ණාහුගේ මූලයයි

කියූ අවිද්‍යාව, රහත් මග නුවණ නමැති මහ උදැල්ලෙන් හාරා දමන්න.'' උදැල්ලෙන් කරන්නෙ උදුරා දමන එක. තණ්හාව උදුරා දමන විදිහටම තමයි භවය උදුරා දමන්නෙත් කියන කාරණය මේ අනුව වටහා ගන්න පුළුවන්. මේ වචන වෙන් කරල අදහස් තෝරා ගන්න පිළිවෙල සූත්‍ර දේශනා විමසිල්ලෙන් බැලුවොත් වටහා ගන්න අපහසු නෑ.

කතමා චානන්ද කිව්වම, ආනන්ද හාමුදුරුවන්ගෙ නම චානන්ද නෙවෙයි කියල අපි දන්නවා. කතමා + ච + ආනන්ද තමයි කතමා චානන්ද කිවවෙ. "ආනන්ද කුමක් නිසාද" කියන එකයි කතමාචානන්ද කියන්නෙ. මෙතෙක් කල් සැඟවිලා තිබුන නිරුක්ති අනුව අරුත් තෝර ගන්න පහසු ක්‍රමය නැවත මතු කරල දෙන එකයි මේ කරන්නෙ. එහෙම නැතිව අලුතෙන් හදපු ක්‍රමයක් නෙවෙයි. සූත්‍ර දේශනා හොඳට විමසල බැලුවොත් මේ කාරණය පැහැදිලි කරගන්න පුළුවන්. කරණීයමත්ථ කුසලේණ... ආදී වශයෙන් පටන් ගන්න කරණීයමත්ථ සූත්‍ර දේශනාවේ නම පසුකාලීනව, කරණීයමෙත්ත සූත්‍රය වීම නිසා අද ඒක භාවිතා වෙන්නෙ සත්ත්ව සංඥා පවා සිහි කරමින් මෙත් වඩන සූත්‍ර දේශනාවක් හැටියට. කරණීයමත්ථ කියන තැන භාවිතා කරල තියෙන ''ථ'' වෙනුවට ''ත'' යෙදීමත් මෙතැනදි අරුත වැහෙන්න හේතු වෙලා තියෙන බවයි පේන්නෙ. කරණීයම + අත්ථ කියල පද බෙදල බැලුව නම්, අර්ථය (නිවන) සඳහා කළ යුතුම කියන තේරුම තමයි එන්නෙ. ඒ දේශනාවෙන් පෙන්වල තියෙන වැඩ කොටසත් නිවන් දකින්න කළ යුතුම වැඩ කොටසක් බව පේන නිසා, ඒ අදහස මෙත් වඩන අදහසට වඩා හොඳින් ගැලපෙන බව පේනවා.

සා + උද්ධ - සාධු. මෙතැනදි උද්ධ කියන්නෙ උසස් කියන අරුතින්. සා කියන්නෙ සුචරිතය. සුචරිතයෙන් උසස් වෙනවා කියන එකයි සාධු කියන්නෙ. තුන් වරක් සාධුකාර දෙන්නෙ උසස් බවට පත්වෙන්න කටයුතු කරමි කියන එක ස්ථිර කරන්න. මේ විදිහට සජ්ඣායනා කරල දවසේ වැඩ කටයුතු කරන වෙලාවට මතක් කර ගන්න ඕන දෙයක් තියෙනවා. ඒ තමයි, හෙට මම මේ වැඩේ කරල තියන්නම්, හෙට එන්න කියල යම් කෙනෙකුට පොරොන්දු වුනා නම්, හෙට ඒ වැඩේ කරල තියන්න ඕන කියන කාරණය. යම් කෙනෙකුට මොන යම් හෝ වෘත්තියක විශේෂ දක්ෂතා තියෙන්න පුළුවන්. එතකොට ඇණවුම් වැඩිපුර ලැබෙන්නත් පුළුවන්. තමන් බාරගන්න වැඩ ප්‍රමාණයට ගතවෙන කාලය ගැන තක්සේරුවක් ඇතුව තමයි කටයුතු කරන්න ඕන. එහෙම නොකළොත් අර යථාවාදී තථාකාරී ගුණය වඩන්න බැරි වෙනව විතරක් නෙවෙයි, කරණීයමත්ථ සූත්‍රයේ පෙන්වල තියෙන ''සල්ලහුක වුත්තී'' කියන සැහැල්ලු ලෙස කටයුතු කරන්නා වූ වෘත්තියක් ඇති බව කියන ගුණයත් නැති වෙනවා. වෘත්තිය කියන්නෙ වැඩ පිළිවෙල. ඒ සැහැල්ලු වැඩ පිළිවෙල තුළ තමයි ක්‍රියාත්මක වෙන්න ඕන. ඒක ගිහි පැවිදි දෙගොල්ලන්ටම අදාළයි. අපි දූන් පුරුදු වෙලා තියෙන්නෙ එක කටයුත්තක් කරන ගමන් ඊ ළඟට කරන්න තියෙන කටයුතුත් කොටස කොටස කරන්න. අපට ඒ තරම්ම කටයුතු බහුලයි, කාලය මදි. නිවන් දකින බලාපොරොත්තුවෙන් කටයුතු කරන අය, තමන් කරන කියන කටයුතු රාගයට, ද්වේශයට, මෝහයට වැටෙනවද කියල විමසිලිමත්ව කරන්න ඕන. කටයුතු අධික වුනොත් කරන්න අමාරුයි. මේ කියන්නෙ එකවර කටයුතු කීපයක් කරන එක වැරදියි කියල නෙවෙයි. එහෙම කරද්දි නොදැනිම රාගයෙන්, ද්වේශයෙන් කටයුතු කෙරෙන්න ඉඩ තියෙනවා.

සම්මා සම්බුදු කෙනෙක් වෙන්න අසංඛ්‍ය කල්ප ලක්ෂ ගණනක් පාරමිතා පුරන්න ඕන. අපි ශ්‍රාවක බුද්ධ වෙන්නත් යම් කිසි කාලයක් පෙළ ගැහෙන්න ඕන. ඒ නිසා එකවර කරගන්න බැරි වුනා කියල පසු තැවෙන්නෙ නැතුව, උත්සාහය වීර්ය අතහරින්නෙ නැතුව, වරදක් වුනා කියල වැටහුනාම කමා කරගෙන ආයති සංවරයේ පිහිටන්න පුළුවන්කම මේ සාසනයේ තියෙනවා. ඒ නිසා ඒ විදිහට ආර්ය මාර්ගය පුරණකොට බුද්ධානුස්සතියෙන් ලැබෙන ආරක්ෂාව සලසගන්න ඕන.

ඊළඟට අපි අසුභ භාවනාවත් විමසල බලමු. කතමා චානන්ද අසුභ සංඥා... ආදී වශයෙන් අසුභය වඩන්න බුදුන් වහන්සේ දේශනා කරල තියෙන විදිහට, උඩින් හිස කෙසුත් යටින් දෙපතුලත් වටින් සමෙනුත් හැදිච්ච මේ සිරුර පුරවල තියෙන්නෙ නොයෙක් ආකාර කොටස් එකතු කිරීමෙන් බව මෙනෙහි කරන්න ඕන. ඒ සියළු කොටස් වැහෙන්න මතුපිටින් පිහිටල තියෙන්නෙ සිත්ගන්නා පැහැයක්, හැඩයක් ඇති කෙස් ලොම් නිය දත් සහ හම. මේ කයේ ඇතුලත නහර, ඇට, ඇට මිදුලු... ආදී කොටස් 27 ක් පෙන්වල තියෙනවා. පිටත කොටස් එක්ක ඔක්කොම කොටස් 32 යි. ඒවා නැවත නැවතත් බෙදල බැලුවම තවත් කුඩා කොටස් ඊට වඩා විසාල ප්‍රමාණයක් තියෙනවා. තනි කොටසක් ගත්තොත් සත්ත්වයෙක් / පුද්ගලයෙක් හෝ ඉන්ද්‍රියක් හෝ පෙන්වන්න පුළුවන්කමක් නෑ. කොටස් ගොඩක් එකතු වුනාම තමයි අපි ඒක හඳුන්වන්න යම් කිසි නමක් දාගන්නෙ. මේ එක කොටසක්වත් සුභ වශයෙන් ගන්න පුළුවන් කමක් නෑ. කැඩිල බිඳිල වැනසිලා යන ස්වභාව ඇති, ලෙඩ රෝගවලට නිධානයක් වගේ, සුභයි කියල ගන්න පුළුවන් කිසිවක් මේ ශරීරයේ නෑ.

ඒ වගේම සුභ දෙයකින් නම් සුභ ප්‍රතිඵලයක් ලැබෙන්න ඕන. නමුත් මේ එක කොටසක්වත් අපි කැමති විදිහට පවතින්නෙ නෑ. පවත්වන්න උත්සාහ කරන්න කරන්න අපි වෙහෙසට පත් වෙනව මිසක්, වෙනස් වෙන බව, විපරිනාමයට පත්වෙන බව වෙනස් වෙන්නෙ නෑ. ඒක ඒ හැම කොටසකටම උරුම ධර්මතාවයක්. ලස්සන ප්‍රිය මනාප අවස්ථාවට පත්වෙන කල් සිද්ධවෙන පරිණාමයට අපි කැමතියි. ඒ අවස්ථාව දිගටම පවත්වා ගන්න බලාපොරොත්තු වුනාට ඒක එහෙම පවතින්නෙ නැතුව තව දුරටත් විපරිණාමයට පත්වෙනවා. ඒ කියන්නෙ අපේ කැමැත්තට විරුද්ධව පරිණාමය වෙනවා. ඒ විපරිනාමය ඒවාට උරුම ධර්මතාවයක්. ඒ විතරක් නෙවෙයි, මේවායින් අපි බලාපොරොත්තු වෙන්නෙ ආස්වාද විඳින්න. ඇස ගත්තොත්, අපට ප්‍රිය මනාප රූප විතරක්ම නෙවෙයි පේන්නෙ, අප්‍රිය අමනාප රූපත් පේනවා. කනට කැමති ප්‍රිය මනාප ශබ්ද විතරක් නෙවෙයි ඇහෙන්නෙ, අප්‍රිය අමනාප ශබ්දත් ඇහෙනවා. ඒක වලක්වන්න අපට පුළුවන් කමක් නෑ. ඇස, කන... ආදී කොටස්වලට උරුම ධර්මතාවය අනුව, ඒවා දිරීම, ලෙඩ රෝගවලින් පෙළීම, ජරා මරණයට පත්වීම වගේම කැමති දේ ලබා නොදීමෙනුත් අපව වෙහෙසට පත් කරනවා. ඉතින් මේවා සුභයි කියල ගන්න පුළුවන් කමක් නෑ.

මේ කයේ අසුභය දකිනව වගේම, අපි වටිනවයි කියල අල්ලගෙන ඉන්න බාහිර ලෝකයත් අසුභ බව දකින්න ඕන. අසුභය දකින්න කය කොටස්වලට බෙද බෙදා බැලුව වගේ, වටිනවයි කියල කැමැත්තෙන් බැඳිල ඉන්න ඒ ඒ වස්තුත් බෙදල

බලන්න ඕන. උදාහරණයක් විදිහට හිත බැඳුන වාහනයක් ගැන අසුභය වඩන්නෙ කොහොමද? මේ වාහනය හැදිල තියෙන කොටස් වෙන වෙනම බලනවා. රෝද, එන්ජිම, ආසන, වීදුරු, ඇණ මුරිච්චි... ආදී වශයෙන් වෙන් කරල බැලුවම ඒ එක කැල්ලක්වත් ලස්සන නෑ. නමුත් ඒ කෑලි ටිකම එකතු කරල හදපු වාහනය ලස්සනයි කියනවා. ඒ ලස්සන අපි හිතින් හදාගත්තු එකක් මිසක් හැබෑවටම පවතින දෙයක් නෙවෙයි. ඒ එක එක කැල්ලක් ගත්තම, දිරන කැඩෙන බිඳෙන මළ බැඳෙන ගතියෙන් යුක්තයි කියල දන්නවා. නමුත් ඒවා එකතු කරල හදපු වාහනය නොකැඩෙන නොදිරන එකක් වගේ ආසාවෙන් අල්ල ගන්නවා.

**ලස්සන නැති දේවල්වලින් ලස්සන දෙයක් නිපදවෙන්නෙ නැති බවත්, දිරන කැඩෙන බිඳෙන දෙයින් නොදිරන නොකැඩෙන නොබිඳෙන දෙයක් නිපදවෙන්නෙ නැති බවත් සිහි නොකරපු හේතුවෙන් වාහනයට අනතුරක් වෙච්ච දවසට දුක් වෙනවා.** මේ විදිහට බාහිර ලෝකයත් අසුභයි කියල දකින්න ඕන. ඒක අපේ මනස අපිව රවටන මුලා කරන මායාවක්. ඒ වගේම කැඩෙන බිඳෙන වැනසෙන, කැඩිල බිඳිල වැනසිලා යන, කඩන්න බිඳින්න වනසන්න පුළුවන් යමක් ළඟ තියා ගත්ත තැනැත්තාට හෝ තැනැත්තියට හිතට අස්වැසිල්ලක් එනවද? නිතරම ඒක ආරක්ෂා කරගන්න, පවත්වාගන්න මහ වෙහෙසක් දරන්න වෙනවා. ඒ වගේ දෙයක් සුභයි කියන්නෙ කොහොමද? මේ විදිහට කයේ අසුභයත්, කයට අරමුණු වෙන රූපවල අසුභයත් මෙනෙහි කිරීම තමයි අසුභ භාවනාව කියන්නෙ. රාගයෙන් බැඳෙන දේවල් පිළිබඳව අසුභය වැඩීමෙන් නොඇලීම, මිදීම සිද්ධ වෙනවා.

සත්වයා පෙළීම් පිඬකි, භය පිඬකි,
ජරා මරණ පිඬකි - අසාරයි
ලෝකය පෙළීම් පිඬකි, භය පිඬකි,
ජරා මරණ පිඬකි - අසාරයි
මේ ශරීරය පෙළීම් පිඬකි, භය පිඬකි, ජරා මරණ පිඬකි - අසාරයි

මම ද සියලු සත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන තණ්හා උපාදාන බැම්වලින්, දස බිම්බරක් මාර බැම්වලින් නිදහස් වෙත්වා (නිදහස් වෙත්වා කොටස 7 වරක් කියන්න)

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයට ඇලුම් කරන සියල්ලෝම සත්ව වෙනවා. අරිහතුන් වහන්සේලා හැර තුන් ලෝකයේ සිටින අන් සියලු දෙනාම සත්ව වෙනවා. බඩගින්න, පිපාසය ආදී විවිධ හේතුවලින් සත්වයා පෙළෙන හැටි සංසාර රෝගය විස්තර කරත්දි පෙන්නුවා. සාමාන්‍ය ව්‍යවහාරයෙදි මැටි පිඬක්, බත් පිඬක්, ගොම පිඬක් ආදී වශයෙන් කියනවා. හැබැයි වැලි ටිකක්, පස් ටිකක් කියනව මිසක් සාමාන්‍යයෙන් වැලි පිඬක් පස් පිඬක් කියන්නෙ නෑ. පිඬක් කියන්නෙ එකට ඇලිල බැඳිල තියෙන කොටසක්. ටිකක් කිව්වම වෙන වෙනම තියෙන සමූහයක් තමයි අදහස් වෙන්නෙ. බත් ඇට ටිකක් එකට තියල ඇනුවම බත් පිඬක් කියනවා. පස්වලට වතුර ටිකක් මිශ්‍ර කරල අනල ගත්තම මැටි පිඬක් කියනවා.

ඒ වගේ, මේ පෙළීම තුළත් සුඛ වේදනා, දුක් වේදනා, උපේක්ෂා වේදනා කියල කළවම් වෙලා තියෙන ආස්වාද මාත්‍රයක් තියෙනවා. පෙළීම් පිඬක් කිව්වෙ ඒ නිසා. ඇලුම් කිරීමත් විවිධයි. ඒ ඒ ඇලුම් කිරීමට අනුව ඒ ඒ භවයන් සකස් වෙනවා. ඇලුම් කිරීම්වලට යා වෙලා, එකතු වෙලා ඉන්න කල් භවයන්ටත් යා වෙනවා. භවයකත් ඇලුම් කරන, ආස්වාද ජනක තරුණ කාලයක් තියෙනවා. ඒ නිසා භවයට යා වෙලා ඉන්න පිරිසට භය පිඬක් තියෙනවා. **ජරා මරණ කිව්වම, කැමති ජරා මරණ කොටසකුත් තියෙනවා. ලෙඩක් දුකක් හැදුනම ඒකෙ ජරා මරණය තමයි ඒ ලෙඩින් සුවපත් වීම.** ඒ නිසා ජරා මරණ පිඬක් කියනවා. ප්‍රිය මනාප අඩක් තියෙන නිසා පිඬක් කිව්වට, මේ මනාප අඩත් අසාරයි, ගෙවිල වැනසිලා යනවා.

ලෝකය කියන්නෙ ලොවන්න ගත් කය කියන අර්ථයෙන්. ඇසෙන් ප්‍රිය මනාප රූප ලොවනවා. කනෙන් ප්‍රිය මනාප ශබ්ද ලොවනවා. දිවෙන් රස රූප, නාසයෙන් ගන්ධ රූප, කයෙන් පොට්ඨබ්බ රූප, මනෙන් ධර්ම රූප ලොවනවා. ''ක'' කියන්නෙ ක්‍ෂය වෙනවා, ගෙවෙනවා. මේ හැම දෙයක්ම ගෙවිල වැනසිලා යන කොට දුක් වෙනවා, පෙළෙනවා.

මේ ශරීරය කිව්වෙත් ආස්වාද ලෝකයේ සැරි සරන්න හදා ගත්තු කයටමයි. සැරි + රිය - ශරීරය. මේ හේතුව නිසා මේ ඵලය ගොඩනැගෙනවා, හේතුව උදා වුනේ නැත්නම් ඵලයක් උදාවෙන්නෙ නෑ, මේ හේතුව නිරුද්ධ කරන මාර්ගයක් තියෙනවා කියන සිවු අරිසස් දහම ලෝක සත්වයා නොදන්නාකමෙන්, ආස්වාදයේ ආදීනවය දකින්නෙ නෑ. ඒ නිසා ආස්වාද මාත්‍රය උපාදාන කරනවා. උප + ආදාන තමයි උපාදාන කිව්වෙ. පංචස්කන්ධයක් ගොඩ නැගීමට ආසන්නම දේ. ආස්වාද තත්හි තත්හි හා වීම - තණ්හා වීම. තත්හි කිව්වෙ තැන කියන එක. ඒ නිසා දුකෙන් මිදෙන්න නම් තණ්හා උපාදාන බැම්වලින් නිදහස් වෙන්න ඕන.

බෝසතාණන් වහන්සේ බුදු වෙන්න උත්සාහ වීර්ය කරන අවස්ථාවෙ, දස බිම්බරක් මාර සෙනග වටවෙලා උන්වහන්සේ වික්ෂිප්ත කරන්න, බෝ මැඩින් පළවා හරින්න උත්සාහ කළා කියල දහමෙ සඳහන් වෙනවා. මේ දස බිම්බර මාර සෙනග කියන්නෙ දස දහසක් සක්වළ වාසය කරන සියලු මාර පාක්ෂික සේනාව කියලයි පෙන්වන්නෙ. අසංඛ්‍ය කල්ප ලක්‍ෂ ගණනක් පුරන ලද මහා පාරමිතා ගුණ බල ශක්තියෙන්, සහජාත ප්‍රත්‍යයෙන් ලොව පහළ වුන ජයශ්‍රී මහා බෝ පියාණන් වහන්සේත්, මහා වජ්‍රාසනයත් මාර සේනාව පළවා හරින්න මහා පරිසර ශාන්තියක් උදාකර දුන්නා. ඒ මහා බුද්ධ ශක්තියේ ආශිර්වාදයෙන් තමයි අපට දස බිම්බරක් මාර බැම්වලින් නිදහස් වෙන්න ශක්තිය ලැබෙන්නෙ. ඒ ආශිර්වාදය ලබා ගන්න තමයි භාවනා කරන්න පූර්ව කෘත්‍යයක් හැටියට බුදු ගුණ කර්මස්ථානයක් වඩන්නෙ. එහෙම කරල හැම දෙනාම මේ භයානක සසරෙන් එතෙර වෙත්වා කියන මහා කරුණාවෙනුයි, මමද සියලු සත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන තණ්හා උපාදාන බැම්වලින්, දස බිම්බරක් මාර බැම්වලින් නිදහස් වෙත්වා කියල භාවනා කරන්නෙ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ඩබ්ලිව්.ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**
**011 2 901 508**

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 13

# ඇත නැත සංකල්පය හා හේතු ඵල දහම



අනිච්චතාවය කියන ලෝක ස්වභාවය, චතුරාර්ය සත්‍යය සහ පටිච්ච සමුප්පාදය අතර තියෙන සම්බන්ධතාවය පැහැදිලි කිරීම තමයි මේ ලිපියේ අරමුණ. චතුරාර්ය සත්‍යයට න්‍යාය ධර්මය වෙන්නෙ අනිච්චතාවය හෙවත් කැමති සේ නැති ස්වභාවය. අනිච්චතාවය තුල ගැබ් වෙලා තියෙන්නෙ පටිච්ච සමුප්පාදය. එහෙමත් නැත්නම් හේතු ඵල දහම. අනිච්චතාවය අවබෝධ වෙනකල් ලෝක සත්ත්වයා හිතාගෙන ඉන්නෙ, ලෝකය තමන්ගෙ කැමැත්තට පවත්වන්න පුළුවන් කියල. ඒ කියන්නෙ ලෝකය නිච්චයි කියල. ලෝකය අනිච්ච වෙන්නෙ ඇයි කියල තව දුරටත් විමසල බලමු.

කෙනෙක් රෑට නින්දට යන්නෙ ඊළඟ දවසෙ කරන්න තියෙන වැඩ ගොඩක් හිතේ තියාගෙන. ඒ කියන්නෙ ඒ පුද්ගලය ඊළඟ දවසෙත් ජීවත් වෙනව කියල තීරණය කරල ඉවරයි. ඒක තමයි පෘථජ්ජන මානසිකත්වය. ඔහු ලෝකය නිච්චයි කියන දෘෂ්ටියේ ඉඳගෙන තමයි වැඩ කරන්නෙ. ඒ කියන්නෙ අනිච්චේ නිච්චන්ති කියන දෘෂ්ටි විපර්යාසයේ තමයි ඔහු ඉන්නෙ.

අපි හිතමු කෙනෙකුට අත්‍යවශ්‍ය රාජකාරි කටයුත්තකට ඊළඟ දවසෙ උදේ පාන්දර 5 ට එන්න කියල තියෙනව කියල. දැන් ඔහු නින්දට යන්නෙ හෙට උදේ පාන්දර 3 ට අවදි වෙන්න ඕන කියල හිතාගෙන ඔරලෝසුවේ සීනුව තියල. හැබැයි ඔරලෝසුවේ විදුලි කෝෂ (බැටරි) බැහැල සීනුව වදින්නෙ නෑ. උදේ ඇහැරෙන කොට වෙලාව පහ හමාරයි. දැන් මොකද වෙන්නෙ? ඉච්චාව තිබුනෙ උදේම නැගිටල උදේ 4 වෙනකොට ගෙදරින් පිටත් වෙන්න. හැබැයි දැන් රාජකාරියට ඉන්න ඕන වෙලාවත් පහු වෙලා. අනිච්ච දෙයක් තමයි සිද්ධ වුනේ. ඔරලෝසුවේ විදුලි කෝෂ නියම කාලෙට මාරු කරල නෑ කියල දැන් ඔහු තමන්ගෙ බිරිඳටත් බනිනවා, ළමයින්ටත් කෑ ගහනවා. හොඳටම කේන්ති අරගෙන. ඒ පුද්ගලයට ඊළඟ දවසෙ ජීවත් වෙන්න වාසනාවක් තිබුණත්, ඔරලෝසුවේ සීනුව ක්‍රියාත්මක නොවීම හේතුවෙන් වෙලාවට නැගිටින්න බැරි වුනා. එක හේතුවක් අඩු වුණා. වෙලාවට නැගිටීම කියන ඵලය හට ගත්තෙ නෑ. කේන්ති අරගෙන මොනව කරන්නද? අතීතයට ගිහින්, සිද්ධ වෙච්ච දේ වෙනස් කරන්න පුළුවන්ද?

අපි හිතමු ඒ පුද්ගලය පෙර සඳහන් කළ සිද්ධිය නොවී වෙලාවට නැගිටල ඔක්කොම කරගෙන රාජකාරියට යන්න තමන්ගෙ මෝටර් රථයට නැග්ග කියල. ඔහු මෝටර් රථය පදවගෙන ටික දුරක් යනකොට පාරෙ වේගයෙන් ආපු යතුරු පැදියක් රථයේ හැප්පෙනවා. යතුරු පැදිකරුට බරපතල තුවාල වෙනවා. දැන් යතුරු පැදිකරුව වහාම රෝහලට ගෙන යා යුතුයි. පොලිසියටත් ගිහින් ඒ අදාළ කටයුතු සියල්ල කළ යුතුයි. දැන් ඇත්තටම යතුරු පැදිකරුගෙ නොසැලකිලිමත්කම නිසා වෙන්න පුළුවන් මේ අනතුර සිද්ධ වුනේ. වරද කාගෙ වුනත් දැන් ඔහුට වෙලාවට රාජකාරියට යන්න බැරිවෙනවා. දැන් යතුරු පදිකරුට බැන වැදුන කියල වැඩක් තියෙනවද? මේ වෙලාවට රාජකාරියට යනව කියන ඵලය විද්‍යමාන වෙන්න කොච්චර නම් හේතු සකස් වෙන්න ඕනද කියල හිතල බලන්න. මේ එකක්වත් තමන්ගෙ කැමැත්තට කරන්න පුළුවන්ද? අන්තිමට බලනකොට තමන් අකමැති විදිහටමයි කටයුතු සිද්ධ වෙලා තියෙන්නෙ.

අපි හිතමු විවාහක යුවළක් දරුවෙක් හදන්න තීරණය කළා කියල. ඔවුන්ට ඒ අතර තමන්ගෙ මිතුරෙක්ගෙ මාර්ගයෙන් ඉතා ප්‍රසිද්ධ දක්ෂ දෛවඥයෙක් අඳුනගන්න ලැබෙනවා. ඔවුන් නිකමට තමන්ගෙ කේන්දර ඔහුට බලන්න දෙනවා. ඔහු කේන්දර දෙක බලල ඒ යුවළට ලැබෙන දරුවා මන්ද බුද්ධික දරුවෙක් බවට අනාවැකියක් පළ කරනවා. දරුවට අවුරුදු තුනක් වෙනකොට උඩකින් වැටිල කොන්ද කැඩෙන බවත්, ඊට පස්සෙ මුළු ජීවිත කාලයම ඇඳක් මත ගත කරන්න වෙන බවත් පවසනවා. දැන් ඔවුන්ගෙ තීරණය මොකක් වෙයිද? කමක් නෑ, අපි ඒ දරුව හදා ගන්නව කියල කියයිද? ඔවුන් දෛවඥයා මුණ ගැහෙන්න පෙර හිතාගෙන හිටියෙ, තමන්ගෙ බලාපොරොත්තු ඉටු කරගන්න හුරු බුහුටි ලස්සන දරු පැටියෙක් ලැබෙයි කියල. ඒක තමයි ඔවුන්ගෙ කැමැත්ත. ඔවුන්ගෙ දෘෂ්ටිය වුනේ, තමන්ගෙ කැමැත්තට දරුවෙක් ලැබෙයි කියල. හැබැයි ඔවුන්ගෙ මේ නිච්චයි කියන දෘෂ්ටිය බලවත් නම් එහෙම දෛවඥයා කියන දේ ඔවුන් අහන්නෙ නෑ. ඔවුන් හිතාගත්ත විදිහට දරුවෙක් හදන්න උත්සාහ කරාවි. හැබැයි දෛවඥයා කියපු දේ ඇත්ත වුනොත් මොකද වෙන්නෙ?

**ඇත්තටම ඔබට පුළුවන්ද දරුවෙක් හදන්න? කවුරුහරි කිව්වොත් එහෙම, අපි දරුවෙක් හැදුව කියල ඒක ඇත්තක්ද? ඔබට දරුවෙක් හදන්න පුළුවන් නම්, ඔබ කවදාවත් අංග විකල දරුවො හදයිද? මන්ද බුද්ධික දරුවො හදයිද? විරූපී දරුවො හදයිද? රෝගී දරුවො හදයිද? අම්මට තාත්තට සළකන්නෙ නැති**

**දරුවො හදයිද? අම්ම තාත්තව මරල දාන දරුවො හදයිද? එතකොට මේ කියන ජාතියේ දරුවො අම්මලට තාත්තලට දාව ඉපදිලා නැත්ද?** ඒ වගේම දරුවො නැතිව දුක් විඳින අය කොච්චර ඉන්නවද? එහෙනම් ඔබට පුළුවන් දරුවෙක් හදන්න හේතු සකස් කරන්න විතරයි. අදාළ හේතු හරියට ගැලපිලා ආවොත් දරුවෙක් නිර්මාණය වේවි. දරුවෙක් කියන්නෙ සංඛතයක්. ඒ කියන්නෙ හේතුවලින් සකස් වෙච්ච දෙයක්.

දරුවෙක් හටගන්න අවශ්‍ය කරන හේතු කිහිපයක් ධර්මයේ සඳහන් වෙනවා. මව ඍතු ඇත්තියක් වෙන්න ඕන. මව්පිය සංවාසයක් වෙන්න ඕන. ගන්ධබ්බයෙක් මව් කුසට ඇතුල් වෙන්න ඕන. මේ මූලික හේතු විතරයි. තවත් හේතු රාශියක් සකස් වෙන්න ඕන. උදාහරණයක් විදිහට පියාගෙ ධාතු දුර්වල වුනොත් ඒත් දරුවෙක් හටගන්නෙ නෑ. මේ අදාළ හේතුවලිනුත් මව්පිය දෙපළට කරන්න පුළුවන් සංවාසයක යෙදෙන එක විතරයි. හැබැයි සංවාසයේ යෙදෙන එක පවා හේතු රාශියක සකස් වීමකින් ලැබෙන ඵලයක්. අපි හිතමු මව ඍතු ඇති කාලය වෙනකොට පියාට සති තුනක කාලයක් හදිසි රාජකාරි කටයුත්තකට විදේශ ගත වෙන්න සිද්ධ වුනා කියල. එතකොට ඒ කාලය තුල මව්පිය එක්වීමක් වෙන්න විදිහක් නෑ. සියල්ල හේතු ඵල කිව්වෙ ඒකයි. ඒක හේතුක නෙවෙයි, බහු හේතුකයි. මේ හේතු සකස් වෙනකොට ඔබේ කැමැත්තට හෝ අකමැත්තට තැනක් තියෙනවද?

ඒ වගේම අද නීති විරෝධී ගබ්සා විසාල සංඛ්‍යාවක් දිනකට වෙනව කියල අපට අහන්න ලැබෙනවා. මේ බොහෝ අවස්ථාවල සිද්ධ වෙලා තියෙන්නෙ, අදාළ පුද්ගලයන්ගෙ කැමැත්තට විරුද්ධව ස්ත්‍රිය ගැබ් ගැනීම. ඒ කියන්නෙ ස්ත්‍රිය හෝ පුරුෂයා හෝ දෙන්නගෙම හෝ කැමැත්තක් තිබිල නෑ දරුවෙක් බිහි කරන්න. හැබැයි අදාළ හේතු නියමාකාරයෙන් ගැලපිලා සකස් වෙච්ච නිසා දරුවෙක් ගැබට ආවා.

එහෙනම් ඉහත විස්තර කළ විදිහට දරුවෙක් ලැබෙන්න හෝ නොලැබෙන්න ඒ අදාළ පුද්ගලයන්ගෙ කැමැත්ත හෝ අකමැත්ත හේතු වෙලා තියෙනවද? හේතු නියමාකාරයට සකස් වුනානම් දරුවා කියන ඵලය විද්‍යමාන වුනා ඇරෙන්න, කැමැත්ත හෝ අකමැත්ත හෝ ඒකට අදාළ වෙන්නෙ නෑ. එක හේතුවක් හරි අඩු වුනා නම් ඵලය විද්‍යමාන වෙන්නෙ නෑ. දැන් කවුරු හරි කිව්වොත්, මහා බ්‍රහ්මයා එහෙමත් නැත්නම් දෙවියන් වහන්සේ දරුවෙක් දුන්න කියල, ඒක ඇත්තද? ඒ වගේම මව්පිය දෙන්න කිව්වොත්, අපි දරුවෙක් හැදුව කියල, ඒක ඇත්තද? එහෙනම් ඇත්ත මොකක්ද? බුදු පියාණන් වහන්සේ මේ කාරණය දේශනා කරල තියෙන්නෙ කොහොමද?

"හේතුං පටිච්ච සංභූතං
හේතු භංගා නිරුජ්ජති"

හේතු ගැලපිලා භූත එකතු වීමක් තුලින් ඵලයක් නිර්මාණය වෙනවා. හේතු භංග වුනාම ඵලය අවිද්‍යමාන වෙනවා.

මේ කියන්නෙ හේතු ඵල දහම. තවත් විදිහකට කිව්වොත් අනිච්චතාවය. මෙතන කියන්නෙ පටිච්ච සමුප්පාදය. යමක් අනිච්ච වෙන්නෙ, සියල්ල හෙවත් ලෝකය පටිච්ච සමුප්පන්න නිසා. පටිච්ච සමුප්පාදය දැක්කොත් ධර්මය දකිනවා. ධර්මය දැක්ක නම් බුදුන් දකිනවා. බුදුන් දැක්ක නම් නිවන් දකිනවා.

එහෙනම් මේ පේළි දෙක වැටහුනා නම් නිවන් දකින්න පුළුවන්. මේක තමයි බුදු දහම. තවමත් සත් ධර්මය විද්‍යමාන වෙනවා. ධර්මයේ අඩු පාඩුවක් නෑ. නිවන් දකින්න බැරි වෙලා තියෙන්නෙ, ධර්මය හරියට වටහාගන්න බැරි වීම නිසා. යමෙක් මේක තේරුම් ගත්ත නම් ඔහු පර ප්‍රත්‍ය රහිතයි. ඊට පස්සෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය වඩල සියලු උපාදානවලින් මිදුන දාට නැවත කරන්න දෙයක් නෑ. බ්‍රහ්ම චරියාව පූර්ණයි.

අනිච්ච කියන පදය ඇතුලෙ මුළු බුදු දහමම කැටි වෙලා තියෙනවා කියන්නෙ ඒකයි. අනිච්ච කියන්නෙ ඉතා පුළුල් අර්ථයක් තියෙන පරම ගාම්භීර පදයක්. මේකට අනිත්‍යයි කිය කියා හිටියොත් හරි යයිද? සියල්ල අනිත්‍යයි, එහෙම නැත්නම් සියල්ල වෙනස් වෙනවා කියන අර්ථය ගත්තොත්, ඒකෙන් පටිච්ච සමුප්පාදය නමැති හේතු ඵල දහම විද්‍යමාන වෙනවද?

තවත් උදාහරණ කීපයක් තුලින් මේ මූල ධර්මය විමසල බලමු. කෙනෙක් ගිනි පෙනෙල්ලක් අරගෙන වේගයෙන් රවුමට කරකවනවා. දැන් අපිට ගිනි වළල්ලක් පේනවා. දැන් කවුරු හරි මේක බලාගෙන ඉඳල, ගිනි වළල්ලක් ඇත කිව්වොත් ඒක හරිද? ගිනි වළල්ලක් නෑ කිව්වොත් ඒක හරිද? ගිනි පෙනෙල්ල කැරකීම හේතුවෙන් ගිනි වළල්ලක් විද්‍යමාන වෙනව මිසක් ගිනි වළල්ලක් ඇත හෝ නැත කියල පනවන්න බෑ.

උද්‍යාන අලංකාර කරන ජලාශවල මෝටරයක් ආධාරයෙන් ක්‍රියාත්මක වන වතුර මල් දකින්න තියෙනවා. මෝටරයේ වහරුව (ස්විචය) ක්‍රියාත්මක කළාම වතුර මල විද්‍යමාන වෙනවා. වහරුව නිවා දැම්මම වතුර මල අවිද්‍යමාන වෙනවා. කවුරු හරි කිව්වොත් වතුර මලක් තියෙනව (ඇත) කියල, දැන් ප්‍රශ්නයක් එනවා වහරුව නිවා දැම්මම වතුර මල කොහෙද ගියේ කියල. වතුර තියෙනව නම්, මෝටරය ක්‍රියාත්මක වෙනව නම්, ඒ අදාළ හේතු ගැලපීම තුලින් වතුර මලක් නිර්මාණය වෙලා පේනව මිසක්, වතුර මලක් ඇත හෝ නැත කියල පනවන්න බෑ.

දැන් අපි දැල්වෙන පහනක් අරගෙන බලමු. පහනෙ තෙල් තියෙනව නම්, තිරයත් හොඳට තියෙනව නම්, තද සුළං හමන්නෙත් නැත්නම්, අපට එකාකාරී පහන් දැල්ලක් පේන්න තියෙනවා. තෙල් නමැති ඉන්ධනය ක්‍රමානුකූලව ඔක්සිජන් වායුව ආධාරයෙන් දහනය වෙමින් පහනේ දැල්ල විද්‍යමාන වෙනවා. තෙලුයි, තිරයයි, ඔක්සිජන් වායුවයි, අදාළ උෂ්ණත්වයයි ගැලපිලා බැඳීමෙන්, ඒ කියන්නෙ පටිච්ච වීමෙන්, නැත්නම් හේතු නියමාකාරයෙන් සකස් වීමෙන් අපට පහන් දැල්ල නමැති ඵලය හෙවත් සංභූතය විද්‍යමාන වෙනවා. එතකොට පහන දල්වපු පුද්ගලයගෙ කැමැත්ත මොකක්ද? පහන නිවෙන්නෙ නැතුව පත්තු වෙන්න. හැබැයි තද සුළඟක් හැමුවොත් පහන නිවෙනවා. එක හේතුවක් හෝ භංග වුනොත් ඵලය නිරුද්ධ වෙනවා. තෙල් අවසන් වුනොත් ඒත් පහන නිවෙනවා. පහන් දැල්ල දිගටම පවත්වන්න නම් දිගටම පහනට තෙල් සැපයිය යුතුයි, තිරය සකස් කළ යුතුයි. පහන් දැල්ල නමැති හේතුවලින් සකස් වෙච්ච සංඛතය දිගටම පවත්වගන්න නම් තෙල් සැපයීම හා තිරය සකස්

කිරීම කළ යුතුයි. සුළඟට නිවෙන්න ඉඩ නොතැබිය යුතුයි. ඒ කියන්නෙ සංඛාර වැඩිය යුතුයි. පහන් දැල්ල නමැති සංඛතය අභිසංස්කරණය කළ යුතුයි. සංඛතය අභිසංස්කරණය කිරීම වෙහෙසක්, දුකක්. සංඛතයක් නැත්නම් මේ දුක නෑ.

අපිට ගෙදරට අවශ්‍ය මිරිස් ගෙදරම හදාගන්න අවශ්‍ය නම් මොකක්ද කරන්න තියෙන්නෙ? අපිට සංඛාර කරල අදාළ හේතු සකස් කරන්න පුළුවන්. නමුත් අපේ කැමැත්තට මිරිස් නිපදවන්න අපට හැකියාවක් නෑ. අපිට හේතු ටික විතරක් සකස් කරන්න පුළුවන්. කොහෙන් හරි මිරිස් පැළ ගෙනත් හිටවන්න පුළුවන්. එහෙම නැත්නම් ඉස්සෙල්ලම හොඳ මිරිස් ඇට ටිකක් හොයාගන්න ඕන. හැබැයි ඒ ටික ගලක් උඩ දැම්මට පැළ වෙයිද? නෑ. මිරිස් ඇට පැළ වෙන්න සුදුසු පරිසරයක් සකස් කරන්න ඕන. ඒකට වගා කිරීම පිළිබඳ යම් දැනුමකුත් තියෙන්න ඕන. නියමාකාරයට පොළව සකස් කරල වතුරත් යොදල ඇට ටික තවන් කරන්න ඕන. දැන් දාපු හැම ඇටයක්ම පැළ වෙයිද? නෑ. පැළ වෙන්න හේතු සකස් වෙලා තියෙන ඇට විතරක් පැළ වෙයි. අපි බාහිරින් හේතු සකස් කළත්, ඒ ඇටවල පැළවීමේ ශක්තිය නැත්නම් පැළවෙන්නෙ නෑ. දැන් අපි හිතුවොත් අපේ කැමැත්තට මිරිස් පැළ හට ගත්ත කියල ඒක හරිද? නියමාකාරයට හේතු ගැලපිලා සකස් වෙනකොට, එහෙමත් නැත්නම් හේතු පටිච්ච වුනාම නිබ්බත්ති ලක්ෂණය නමැති හේතුව ක්‍රියාත්මක වීමෙන් මිරිස් ඇටය තුලින් මිරිස් පැළයක් හට ගන්නවා.

නිබ්බත්ති ලක්ෂණය කියන්නෙ යමක් නිර්මාණය වීමේ ලක්ෂණය. ඒකත් ලෝක ස්වභාවයක්. සියලු රූප ධර්ම හා නාම ධර්ම හට ගැනීමට නිබ්බත්ති ලක්ෂණය අත්‍යවශ්‍යයි. දැන් තාම මිරිස් කරල් හැදුනෙ නෑ. දැන් මිරිස් පැළ ටික තවානෙන් ගලවල වෙනම හිටවන්න ඕන. ඊට පස්සෙ ඒවාට සාත්තු කරන්න ඕන, පොහොර දාන්න ඕන, සත්තුන්ගෙන් බේරගන්න ඕන. දැන් ගහ මෝරල නියම කාලය එනකොට මල් ඇවිත් ඵල හට ගන්නවා. සංඛාර කර කර මේ හේතු සකස් කරනව ඇරෙන්න අපිට කරන්න දෙයක් නෑ. අදාළ විදිහට හේතු නියමාකාරයෙන් ගැලපිලා සකස් වුනොත් අපිට ඵල දකින්න පුළුවන්. කිසියම් හේතුවක් අඩු වුනොත් අවශ්‍ය ඵලය දකින්න ලැබෙන්නෙ නෑ. සියලු සංඛත ලෝකයේ හට ගන්නෙ මේ විදිහට තමයි.

උපතිස්ස පරිබ්‍රාජකයා අස්සජි මහ රහතන් වහන්සේගෙන් ධර්මය දේශනා කරන්න කියල ඉල්ලා හිටින කොට උන්වහන්සේ කිව්වෙ, තමන් පැවිදි වෙච්ච නවකයෙක් බවත්, වැඩිපුර යමක් කියන්න නොදන්නා බවත්, කෙටියෙන් හරය පමණක් දේශනා කරන්න පුළුවන් බවත්. මොකද ඒ වෙනකොට අස්සජි මහ රහතන් වහන්සේ දැනගෙන හිටියෙ සූත්‍ර දේශනා දෙකයි. පටිච්ච සමුප්පාදය ගැඹුරින් විස්තර කරන්න දැනගෙන හිටියෙ නෑ.



බුදු දහමේ හරය හෙවත් හේතුඵල දහම එක ගාථා පාඨයකින් අස්සජි මහ රහතන් වහන්සේ උපතිස්ස පරිබ්‍රාජකයට කියනකොටම ඒ උත්තමය සෝවාන් ඵලයට පත්වුණා. උපතිස්ස පරිබ්‍රාජකයා ඒ ගාථාව කෝලිත පරිබ්‍රාජකයට කියන කොට ඒ උත්තමයත් ඒක අහපු ගමන් සෝවාන් ඵලයේ පිහිටියා. මහා ඥානයක් තිබුණ උන්වහන්සේලාට ඒක විස්තර කරල කියල දෙන්න අවශ්‍ය වුනේ නෑ. මාතෘකාව ඇහෙන කොටම අවබෝධ වුනා. උන්වහන්සේලා දෙනම තමයි ගෞතම බුද්ධ සාසනයේ සැරියුත් මුගලන් කියල අගසව් දෙනම බවට පත් වුනේ. මේ තමයි ඒ ගාථා පාඨය,

යේ ධම්මා හේතුප්පභවා
තේසං හේතුං තථාගතො ආහ
තේසංච යෝ නිරෝධෝ
ඒවං වාදී මහා සමණෝ

යම් ධර්මයක් හේතු නිසා ප්‍රභව වෙනව නම්, ඒ හේතු තථාගතයන් වහන්සේ වදාරනවා. ඒ හේතු නිරෝධයත් වදාරනවා.

මේ ගාථා පාඨය ඇතුලෙ අනිච්චතාවයත් තියෙනවා, පටිච්ච සමුප්පාදයත් තියෙනවා. ඒකයි ඒ උත්තමයන් වහන්සේලාට නිවන් දකින්න පුළුවන් වුනේ.

ලෝකයේ රූප හැදිල තියෙන්නෙ අපේ කැමැත්ත නිසා නෙවෙයි. අදාළ හේතු සකස් වුනොත් රූපයක් සමුදය වෙනවා. එහෙම නැත්නම් සංභූතයක් උදා වෙනවා. සං + උදා - සමුදය වෙනවා. අපි එහෙම හට ගත්තු රූපයකට නමක් තියා ගන්නවා. හේතු සකස් වෙනකල් රූපය විද්‍යමාන වෙනවා. හේතු භංග වුනාම රූපය අවිද්‍යමාන වෙනවා. ඊට පස්සෙ රූපය ගිය තැනක් හොයන්න නෑ. උදාහරණයක් විදිහට ඉහතින් විස්තර කළ පහන් දැල්ල ගන්න. දැන් තෙල් අවසන් වීම නිසා දැල්ල නිවුනොත් දැල්ල කොහාට හරි ගියාද? ඒ වගේම පහන පත්තු කරන්න කලින් දැල්ල කොහේ හරි තිබිල ආවද? පහන් දැල්ල කියන්නෙ හේතු ඵලයක් මිසක් ඇත නැත කියන දෙකෙන් පනවන්න පුළුවන් එකක් නෙවෙයි. ඒ කියන්නෙ පහන් දැල්ල කොහේවත් තිබිල ආවෙත් නෑ, කොහාටවත් ගියෙත් නෑ. හේතු නිසා හටගත් ඵලයකට යාමක් ඒමක් හෝ ඇත නැත කියල හෝ පනවන්න බෑ.

ඔබේ දරුවා ජීවත් වෙන්නෙ ඔබ කැමති නිසා නෙවෙයි. හේතු තියෙනකල් ජීවත් වෙනවා. හේතු නැති වුන දාට දරුවා කියන ඵලය නිරුද්ධ වෙනවා. එතකොට අපි දරුව මැරුන කියල කියනවා. මැරිච්ච දරුවා ලෝකයට තියෙන ඡන්ද රාගය අවසන් කරල නැත්නම් කොහේ හරි ගිහින් තවත් උප්පත්තියක් ලබනවා. සමහරවිට සතර අපාගත වෙන්නත් පුළුවන්. දැන් තමන්ගෙ දරුවෙක් නෙවෙයි.

එතකොට දරුවා මේ ලෝකයට ආවෙ කොහොමද? හේතු ඵල ක්‍රියාවලි රාශියක් තුලින් තමයි දරුවා කියන ඵලය නිර්මාණය වුනේ. මව්පිය සංවාසය තුලින්, මවගේ ඩිම්බයක් පියාගේ ශුක්‍රාණුවක් සමග එකතු වීමෙන් යුක්තාණුවක් නිර්මාණය වුනා. අදාළ හේතු සකස් වීමෙන් ☞

යුක්තානුවක් නිර්මාණය වුනා මිසක් මව්පියන් යුක්තානුවක් හැදුව නෙවෙයි. එක හේතුවක් හරි අඩු වුනා නම් යුක්තානුවක් නිර්මාණය වෙන්නෙ නෑ. මේ නිර්මාණය වෙන ලක්ෂණයට නිබ්බත්ති ලක්ෂණය කියල කියනවා. උදයව්‍ය ඥානයට අනුව රූපයක් සමුදය වෙන්න (උදාවෙන්න) කරුණු පහක් අවශ්‍යයි. ඒ තමයි අවිද්‍යා, තෘෂ්ණා, කර්ම, ආහාර සහ නිබ්බත්ති ලක්ෂණය.

දැන් මේ යුක්තානුවට ගන්ධබ්බයෙක් පැමිණිය යුතුයි. මව්පියන්ගෙ කැමැත්ත අනුව ගන්ධබ්බයින් සම්මුඛ පරීක්ෂණයකට ලක් කරල තමන්ට අවශ්‍ය ගන්ධබ්බයෙක් එහෙම තෝරගන්න පුළුවන්ද? මව් කුසට බැස ගන්න හිමිකම් තියෙන ගන්ධබ්බයින් කොච්චර ආවත්, ඒ මොහොතේ ගොඩනැගිල තියෙන සමනන්තරය අනුව මව්පියන්ගෙත් ගන්ධබ්බයගෙත් කර්ම ශක්තීන් ගැලපීම තුලින් අදාළ ගන්ධබ්බයා කළලයට බැස ගන්නව මිසක් මව්පියන්ගෙ හෝ ගන්ධබ්බයගෙ හෝ කැමැත්තට කිසිවක් කරන්න බෑ.

මේ විදිහට අදාළ හේතු පටිච්ච වීමෙන්, නැත්නම් ගැලපිලා එකතු වීමෙන් සංභූතයක් හට ගන්නවා. දැන් මව කන බොන ආහාර තුලින් පෝෂණය වෙමින් කළල රූපය වැඩෙනවා. පැමිණි ගන්ධබ්බයගෙ ආකාරය අනුව තමයි කළලය මව් කුස තුල වැඩෙන්නෙ. මේ ක්‍රියාවලිය අභිනිබ්බත්ති හෙවත් අභ්‍යන්තර නිර්මාණය වීම කියල හඳුන්වනවා. මව් කුසට බැස ගත් ගන්ධබ්බයගෙ අතක් නැත්නම් වැඩෙන දරුවගෙත් අතක් නෑ. ගන්ධබ්බයගෙ කකුලක් කොට නම් වැඩෙන දරුවගෙත් කකුලක් කොටයි. හරියට කොකිස් අච්චුවේ හැඩයට කොකිස් හැදෙනව වගේ ගන්ධබ්බයගෙ හැඩ රුව අනුව කළලය වැඩෙනවා. නිබ්බත්ති ලක්ෂණය ක්‍රියාත්මක වීම තුලින් මව ගන්න ආහාර තුලින් දරුවා වැඩෙනවා. මේ සියල්ල හේතු අනුව නිර්මාණය වෙනව මිසක් කැමැත්තට වෙනව නෙවෙයි. අපි හිතුවට, ප්‍රාර්ථනා කළාට අපිට ඕන විදිහට දරුවෙක් ලැබෙන්නෙ නෑ. අපිට පිරිමි දරුවෙක් ඕන කිව්වට පිරිමි දරුවෙක් ලැබෙයිද? හේතු තියේ නම් ලැබෙයි, නැත්නම් ලැබෙන්නෙ නෑ.

දැන් මේ වගේ හේතුවලින් සකස් වෙන, අපේ වසඟයේ පවත්වන්න බැරි, අනිච්ච වූ යමකට අපි ඉච්චාවක් හදාගෙන, ඉච්චාවට අනුව පවත්වන්න උත්සාහ කළොත් අපේ ඉච්චාව හරියයිද? ඔය හේතු මොන වෙලේ නැතිවෙයිද කියල කාටද කියන්න පුළුවන්? හේතු නැති වුන ගමන් ඵලයට පැවැත්මක් නෑ. හේතු තියෙනකල් ඵලය විද්‍යමාන වෙනවා. ඒ කියන්නෙ සියළුම සංඛත අනිච්චයි. මේ කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන තුන් ලෝකයේම ඕනෑම රූප ධර්මයක් හෝ නාම ධර්මයක් හෝ හටගන්නෙ අදාළ හේතු ගැලපිලා සකස් වීම තුලින්. ඒ කියන්නෙ හේතු පටිච්ච වීමෙන්. ඒ නිසා ඒවා අනිච්ච කියන ධර්මතාවයෙන් යුක්තයි. ඒ කියන්නෙ අනිච්ච කියන කාරණය ලෝක ස්වභාවයක්. ඒක අපිට වෙනස් කරන්න බෑ.

එහෙනම් අනිච්ච වූ සංඛතයක් ගොඩනගන්න, ලබාගන්න, වැඩි දියුණු කරන්න සංඛාර වැඩීම හෙවත් සංඛතය අභිසංස්කරණය කරන්න උත්සාහ වීර්ය කිරීම කිසිම හරයක් ඇති දෙයක් නෙවෙයි. අපි ලෝකයේ ඉන්න කල් කරන්නෙ ඔය හරයක් නැති වැඩපිළිවෙල තමයි. සබ්බ සංඛාර අනිච්ච සංඥාවෙන් අට්ටීයති හරායති ජිගුච්චති විදිහට දකින්න කිව්වෙ ඒ නිසා. ඒ කියන්නෙ මේ ලෝකයක් අල්ලගන්න, ආස්වාද මාත්‍රයක් විඳින්න කරගෙන යන වැඩ පිළිවෙල හරියට ඇට ලෙව කනව වගේ හරයක් නැති වැඩ පිළිවෙලක්, ලැජ්ජා විය යුතු වැඩ පිළිවෙලක්, මළ මුත්‍රවලට කැමැත්තක් ඇති කරගත්ත වගේ වැඩ පිළිවෙලක්. ඒක වටහා ගත්තු ආර්යයෝ රාග, ද්වේශ, මෝහවලින් සංඛාර කරන වැඩ පිළිවෙල නවත්වනවා.

අනිච්ච වූ යමකට අපි ඉච්චාවක්, නැත්නම් තණ්හාවක් ගොඩ නැගුවොත් අපිට දුක් විඳින්න සිද්ධ වෙනවා. එහෙනම් දුකට හේතුව වෙන්නෙ තණ්හාව. තණ්හාවක් නැත්නම් දුකකුත් නෑ. එහෙනම් දුක ඇත්ද, දුක නැත්ද? දුක කොහේ තිබිලද ආවෙ? කොහාටද ගියේ? දුක ඇත නැත කියල හෝ ආවා ගියා කියල හෝ පනවන්න බෑ. තණ්හා වුනොත් පටිච්ච සමුප්පන්නව දුක ගොඩ නැගෙනවා. තණ්හාවේ ශේෂයක් නැතිව නිරුද්ධ කිරීමෙන් දුක නිරුද්ධ වෙනවා. හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වෙනවා. එහෙම නැතුව, ඔන්න දුක ඔළුවෙ හට ගෙන කකුල් දෙකෙන් බැහැල ගියා කියන්න බෑ. තණ්හා නමැති හේතු නිරෝධයත් එක්කම දුක නමැති ඵලය නිරෝධ වෙනවා. දැන් ප්‍රඥාවෙන් දුක, දුකට හේතුව, දුක්ඛ නිරෝධය දැක්කා. ලෝකයේ අසාරත්වය දැක්කා. ලෝකය නිච්චයි කියන දෘෂ්ටියෙන් මිදුනා. අනිච්ච වූ ලෝකයෙන් මිදෙන්න ඕන කියන දෘෂ්ටියට පත් වුනා, සම්මා දිට්ඨියට පත් වුනා. යමෙක් සම්මා දිට්ඨියට පත් වුනා නම් ඒ පුද්ගලය ඉන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ. ආර්ය අෂ්ඨාංගික මාර්ගයට සෝත කියල කියනවා. එහෙනම් සෝතයට ආපන්න වුනා, පැමිණුනා. සෝතාපන්න වුනා.

ආර්ය විනයේ දුක හෙවත් දුක්ඛ ආර්ය සත්‍යය කියන්නෙ වේදනා චෛතසිකයෙන් විඳින දුක නෙවෙයි. වේදනා චෛතසිකයෙන් විඳින දුක හෙවත් දුක් වේදනාව ඕනෑම කෙනෙකුට දැනෙනවා. කාම සුගතියක් වන මනුස්ස ලෝකයේ ජීවත් වන මනුස්සයින්ට විතරක් නෙවෙයි ඒක දැනෙන්නෙ. දෙවියන්ටත් දැනෙනවා. බ්‍රහ්මයින්ටත් දැනෙනවා. අපායෙ දුක් විඳින නිරි සත්ත්වයින්ට තමයි ඒක උපරිමයෙන් දැනෙන්නෙ. අනෙක් ලෝකවල ඉන්න සත්ත්වයින්ට එක එක මට්ටම්වලින් දුක් වේදනාව දැනෙනවා. අපට ඇහැට කනට පේන්න තියෙන තිරිසන් අපායෙ සත්ත්වයන් විඳින දුක අපිට හොඳටම දැක බලාගන්න පුළුවන්. හැබැයි ඒ එක සත්ත්වයෙක්වත් දුක් වින්ද කියල දුක්ඛ ආර්ය සත්‍යය දකින්නෙ නෑ. **දුක් විඳල දුක්ඛ ආර්ය සත්‍යය දකිනව නම් ඉස්සෙල්ලම දුක්ඛ ආර්ය සත්‍යය වැටහෙන්න ඕන අපායෙ අනන්ත දුක් විඳින නිරි සත්ත්වයින්ට. දුක්ඛ ආර්ය සත්‍යය දැක්ක නම් අනෙක් ආර්ය සත්‍ය තුනත් පෙර පසු නොවී එවෙලෙම දකිනවා. එහෙනම් මේ අනන්ත දුක් විඳින නිරි සත්ත්වයින් තමයි ඉස්සෙල්ලම නිවන් දකින්නෙ.** හැබැයි ඒක එහෙම වෙන්නෙ නෑ. මොකද දුක් වේදනාව දැකල නිවන් දකින්න බෑ. නිවන් දකින්නෙ ප්‍රඥා චෛතසිකයෙන්.

ඒ වගේම නිවන කියන්නෙ සැපක්ද දුකක්ද කියල බොහෝ අයට වැටහෙන්නෙ නෑ. කියන්නත් වාලෙ නිවන් සැප ලැබේවා, අමා මහ නිවනින් සැනසෙත්වා කිව්වට නිවන සැපක් වෙන්නෙ කොහොමද කියල පෘතජ්ජනයෙකුට තේරුම්

ගන්න බෑ. මොකද ඔවුන් දන්නෙ වේදනා චෛතසිකයෙන් විඳින සැප වේදනා විතරයි. අනන්ත සංසාරෙ ඔවුන් අත් විඳල තියෙන්නෙ ඒක විතරයි. ඒකම තමයි ඔවුන් මේ සංසාරෙ නැවත නැවත ඉපදෙමින් හොයන්නෙ. ඒ නිසා තමයි ඔවුන් ඒ සැප වේදනාවට තණ්හා වෙලා අනන්ත සසර ගමනක් යමින් ජාති ජරා ව්‍යාධි මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාසයන්ට ගොදුරු වෙලා දුක් විඳින්නෙ.

අපි හිතමු කෙනෙකුට හිසේ මහ වේදනාවක් තියෙනව කියල. ඒක මහ දුක් වේදනාවක්. අපි ඔහුව වහාම රෝහලකට ගෙනියනවා. වෛද්‍යවරු මොකද කරන්නෙ, වහාම ඔහු පරීක්ෂණයකට ලක් කරල ඒකට හේතුව හොයල බලනවා. ඉතා තදබල වේදනාවක් නිසා රෝගියාගෙ හිස ස්කෑන් පරීක්ෂණයකට ලක් කරන්න තීරණය කරනවා. පටිච්ච සමුප්පාදයට අනුව වේදනාවක් හටගන්නෙ කොහොමද? වේදනාවක් හටගන්නෙ ස්පර්ශ ප්‍රත්‍යයෙන්. දැන් රෝගියා විඳින්නෙ කායික දුක් ස්පර්ශයක්. කයයි, පොට්ඨබ්බයයි, කාය විඤ්ඤාණයයි කියන තුන එකතු වෙලා තමයි මේ කායික දුක් ස්පර්ශය හට ගන්නෙ.

දැන් ස්කෑන් පරීක්ෂණයෙන් හොයා ගන්නවා, හිසේ ස්නායුවක් අස්ථියක් සමග තෙරපීම නිසා තමයි මේ තදබල වේදනාව හටගෙන තියෙන්නෙ කියල. දැන් වේදනාව සමනය කරන්න නම් මොකද කරන්න ඕන? ඒකට මූල ධර්මය මොකක්ද? "හේතුං පටිච්ච සංභූතං - හේතුං භංගා නිරුජ්ජති" වෛද්‍යවරු ශල්‍යකර්මයක් තුලින් ස්නායුවත් අස්ථියත් අතර තියෙන තෙරපීම හෙවත් හේතුව ඉවත් කරනවා. දැන් දුක් ස්පර්ශයට හේතුව අයින් කළා. විඳපු දුක් වේදනාව අවසානයි. දැන් කාට හරි කියන්න පුළුවන්ද, වේදනාව කොහේ හරි තිබිල ඇවිත් නැවත ඒ ආපු තැනට ගියා කියල? හේතුව භංග වුනා. වේදනාව නමැති ඵලය අවිද්‍යමාන වුනා. ඒකයි කිව්වෙ, ඇත හෝ නැත කියල පනවන්න බෑ කියල. දැන් රෝගියා සාමාන්‍ය තත්ත්වයට පත් වුනා.

දැන් රෝගියා කියනවා, පුදුම සැපක් නිවන් ගියා වගේ කියල. ඇත්තටම දැන් රෝගියා වේදනා චෛතසිකයෙන් සැප වේදනාවක් විඳිනවද? සැප වේදනාවක් විඳින්නෙ නෑ. එහෙනම් ඔහු සැපයි කියන්නෙ ඇයි? විඳිමින් හිටපු දුක් වේදනාව දැන් නැති නිසා ඔහු සැපයි කියනවා. නිවන් සැපත් අන්න ඒ වගේ. මෙතෙක් කලක් විඳපු සංසාර දුකෙන් නිදහස් වුනා. එහෙම නැතුව සැප වේදනාවෙන් විඳින සැපක් එතන නෑ.




**කෙනෙකුට ජීවත්ව ඉඳෙද්දි ලබන්න පුළුවන් උපරිම සැප විඳිහට බුදු පියාණන් වහන්සේ පැනෙව්වෙ නිරෝධ සමාපත්තියට සම වැදීම.** සංඥා වේදයිත නිරෝධයෙදි චිත්ත නිරෝධයි. කිසිම දැනීමක් නෑ. ඒ කාලෙ හිටපු බමුණන්ට මේක තේරුම් ගන්න බැරි වුනා. ඔවුන් ප්‍රශ්න කරන්න ගත්තා, වේදනාවක් දැනෙන්නෙ නැති තැන කොහොමද සැපක් තියෙන්නෙ කියල. මොකද නිවන කියන්නෙ මොකක්ද කියල නොදන්න ඔවුන්ට ඒක තේරුම් ගන්න බෑ. ඔවුන් වේදනා චෛතසිකයෙන් විඳින සැපක් හොයනවා. අදත් ගොඩක් අයට වෙලා තියෙන්නෙ මේ ටිකම තමයි. සැප විඳ විඳ ඉන්න තැනක් හොයනවා. නිවන කියන්නෙත් එහෙම එකක් කියල හිතාගෙන ඉන්නවා.

ආර්ය විනයේ දුක සැප කියන්නෙ, වේදනා චෛතසිකයෙන් දුක් වේදනා හෝ සැප වේදනා විඳින අර්ථයෙන් නෙවෙයි කියල දැන් වැටහෙන්න ඕන. ලෝකය දුකෙන් පිරිල තියෙනවා, එහෙමත් නැත්නම් ලෝකය දුකේ පිහිටල තියෙනව කියල ආර්ය විනයේ කියනවා. පෙළ දහමේ "දුක්ඛෙ ලෝකෝ පතිට්ඨිතො" කියල සඳහන් වෙන්නෙ මේ කාරණය. මේ කියන්නෙ ලෝකයේ සැප වේදනා නෑ, දුක් වේදනා විතරයි තියෙන්නෙ කියන එක නෙවෙයි. බොහෝ දෙනෙක් වරදවා තේරුම් ගන්න තැනක් තමයි මේ. ඒ වගේම නිවන් සැප කිව්වමත්, සැප වේදනාවක් විඳිනව කියන අර්ථය නෙවෙයි ඒකෙන් කියන්නෙ. සත් ධර්මය හරියට දෙපැත්ත කැපෙන දැලි පිහියක් වගේ. වැරදියට අල්ල ගත්තොත් විනාසයක්ම තමයි වෙන්නෙ. තමනුත් අමාරුවෙ වැටිල අනුන්වත් අමාරුවෙ දානවා. ඒ නිසා තමයි මේ හේතු ඵල දහම ප්‍රඥාවන්තයාට මිසක් දුෂ්ප්‍රාඥයාට නෙවෙයි කියල කිව්වෙ.

ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමකට විතරයි මේ හේතු ඵල දහම, නැත්නම් පටිච්ච සමුප්පාදය ස්වයංභූ ඥානයෙන් අවබෝධ කරගෙන ලෝකයට දේශනා කරන්න පුළුවන්. එතකල් ලෝකයා ඇත කියන සාස්වත දෘෂ්ටියේ, නැත්නම් නැත කියන උච්ඡේද දෘෂ්ටියේ ඉඳගෙන තමයි කටයුතු කරන්නෙ. (කච්චානගොත්ත සූත්‍රය - සං. නි. (2) 28 පිටුව) ඇත කියන්නෙ එක (1), නැත කියන්නෙ බිංදුව (0). එකෙයි බිංදුවෙයි ඉන්නකල් තමයි ලෝකය කියන්නෙ. පරිගණක විද්‍යාව දන්න කෙනෙක් දන්නවා, පරිගණකය වැඩ කරන්නෙ 1 යි 0 යි තුලින් බව. ඇත කියන දෘෂ්ටිය තුලින් විවිධ දෘෂ්ටි 44 ක් හැදෙනවා. ඒ වගේම නැත කියන දෘෂ්ටිය තුලින් විවිධ දෘෂ්ටි 18 ක් හැදෙනවා. ඔක්කොම දෘෂ්ටි 62 යි. දස වස්තුක මිත්‍යා දෘෂ්ටිය තියෙන්නෙත් මේ 62 ඇතුලෙ. ඉතිරි ඒවා අවිද්‍යාවෙ දෘෂ්ටි. හේතු ඵල දහම අවබෝධ වුන දාට මේ සියලු දෘෂ්ටිවලින් මිදිල සම්මා දිට්ඨියට පත්වෙනවා. ලෝකෝත්තර වෙනවා, ලෝකයෙන් එතෙර වෙනවා. තථාගතයන් වහන්සේ ලෝකයට පහළ වුනේ අපට හේතු ඵල දහම මතු කරල දෙන්න මිසක් අපෙන් පුද පූජා ලබන බලාපොරොත්තුවෙන් නෙවෙයි. ඒ නිසා ප්‍රමාද නොවී අනිච්චතාවය වහ වහා අවබෝධ කරගෙන සියලු දුකෙන් මිදෙන්න උත්සාහ කරන්න. ඒක තමයි තථාගතයන් වහන්සේට කරන්න පුළුවන් ලොකුම පූජාව.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
නුගේගොඩ
0777 302407

**අභයරතනාලංකාරය - 63**

# ගිහි ගෙදරදී වින්ද දුක් ගිනි... (VIII)



- වහරක අභයරතනාලංකාර හිමි

ලෝක සත්ත්වයා මේ සසර පැවැත්ම තුළ විවිධාකාරයේ බය තැති ගැනුම්වලට මුහුණ දෙනවා. ඒ අතර මරණ බය හෙවත් ජීවිතයට ඇති ආසාව ප්‍රධානයි. ඒ මරණ බයට මුහුණ නොදීපු කෙනෙක් නැති තරම්. පෙර අත්බැව් මතක නැති වුණත්, ඒ වගේ බය තැති ගැනුම්වලට ලක් වෙච්ච අවස්ථා අනන්තයි අප්‍රමාණයි. මේ අත්බවය ගත්තත් හැම කෙනෙකුටම වගේ ඒ අත්දැකීම තියෙනවා. විශේෂයෙන් හදිසි අනතුරකදී එන ක්ෂණික මරණ බය කෙනෙක් මහත් කම්පනයට පත් කරනවා. ඒ වගේ වෙලාවට මිනිස්සු ඒ බයෙන් බේරෙන්න නොකරන දෙයක් නෑ. දියේ ගිලෙන්න ඉන්න මිනිහ පිදුරු ගහෙත් එල්ලෙන්න බලනව වගේ, මරණ බයක් ආපු වෙලාවට කෙනෙක් තමන්ගෙ ජීවිතය බේරගන්න හැම උත්සාහයක්ම දරනවා. ඒකෙ ප්‍රතිඵලයක් විදිහට කෑ ගහනවා, මරලතෝනි දෙනවා. ඊට අමතරව ඒ අවස්ථාවට මුහුණ දෙන්න මස් ලේ ශරීරය පවා ස්වභාවයෙන්ම විවිධ ප්‍රතික්‍රියා දක්වනවා.

රහත් ඵලයට පත් වෙච්ච උත්තමයෙකුට හැර, තමන්ගෙ ජීවිතයට ඇති ආසාව හෙවත් මරණ බය අනෙක් හැම කෙනෙකුටම තියෙනවා. හැබැයි අනෙක් මගඵලලාභීන්ටත් පෘතජ්ජන අයට වඩා අඩුවෙන් තමයි ජීවිත ආසාව තියෙන්නෙ. මොකද මේ ජීවිත ආසාව හෙවත් මරණ බය විශේෂයෙන්ම දැනෙන්නෙ මරණාසන්න මොහොතෙ. ඒ වෙලාවෙ කර්ම, කර්ම නිමිති, ගති නිමිති විදිහට සතර අපාගත ඒවා ඇදිල එනකොට තමයි විශේෂයෙන් බය එන්නෙ. නමුත් මගඵලලාභීන්ට මරණාසන්න මොහොතෙදි සතර අපාගත ඒවා එන්නෙ නෑ. හැබැයි පෘතජ්ජන අය සතර අපා ගතියෙන් මිදිල නැති නිසා ඒ වගේ ඒවා එන්න පුළුවන්. ඒ නිසා බය වැඩියි. ඒ වගේම ලෝකය වටිනවා, සාරයි කියන දෘෂ්ටිය පහ වෙලා තියෙන නිසා මග ඵල ලාභීන්ට මරණ බය දැනීම අඩුයි. පෘතජ්ජන අය ඒ දෘෂ්ටියේ ඉන්න නිසා මේ කය අතහැරෙන කොට මරණ බයත් වැඩියි. අනුන්ගෙ ජීවිත ගැන කිසිදු තැකීමක් නොකර පර පණ නසන මිනිස්සුන්ට මරණ බය දැනෙන්නෙ තමන්ටත් ඒ වගේ අවස්ථාවන්ට මුහුණ දෙන්න සිද්ධ වුනාම තමයි. ඒ නිසාම තමයි, අත්තානං උපමංකත්වා... ආදී වශයෙන් බුදුන් වහන්සේ දේශනා කළේ. ඒ කියන්නෙ තමන් උපමා කරල අනුන්ගෙ ජීවිතය ගැනත් බලන්න කියන කාරණය.

ඉතින් මේ මරණ බය කියන එකත් තවත් කෙනෙක් විසින් මෙහෙයවල හෝ ස්වභාවික අනතුරක් නිසා හෝ කෙනෙකුට එන්න පුළුවන්. ඒකත් නිකම්ම එනව නෙවෙයි, කර්මය මුල් වෙලාමයි එන්නෙ. ඒ කියන්නෙ පෙර අත්බැව්වල අනුන්ට බය තැති ගැනුම් ඇති කළාම, මරණ බය ඇති කළාම, හේතුවට අනුකූල ඵලය විදිහට තමන්ටත් කවදහරි ඒ වගේ අවස්ථාවන්ට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඉතින් මේ අනන්ත සසර ගමන තුළ ඒ වගේ පාප කර්මවලට යොමු නොවෙච්ච අවස්ථා කාටවත් නැති නිසා, හැම කෙනෙකුටම මේ මරණ බය අඩු වැඩි වශයෙන් එනවා. ඒ තමයි සසරෙ හැටි.

මනුස්සයෙක් ගත්තම මේ ජීවත් වෙන අවුරුදු 60 - 70 කට ඔය වගේ බය තැති ගැනුම් කොච්චරකට නම් මුහුණ දෙන්න සිද්ධ වෙනවද? තමන්ට විතරක් නෙවෙයි, තමන්ගෙ ළඟම ඥාතියෙකුට, හිතවතෙකුට කරදරයක් වුනාමත් පපුව හෝස් ගාල පත්තු වෙන අවස්ථා කොච්චරකට නම් මුහුණ දෙන්න වෙනවද? සමහර වෙලාවට ඒ කම්පනයටම පුද්ගලයා මියගිය අවස්ථාත් තියෙනවා. ඉතිං ''ගිහි ගෙදරදී වින්ද දුක් ගිනි'' කියන මේ ලිපි පෙළ අවසන් කිරීමට මත්තෙන්, මේ ජීවිතය හෙවත් සසර පැවැත්ම මොන තරම් දුක් කරදර, බය තැති ගැනුම් මැද්දෙද ගෙනියන්න වෙන්නෙ කියන කාරණය සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී ලබපු අත්දැකීම් අතරින් තවත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ.

මේ කියන්නෙ මම මාරක අවස්ථාවකට මුහුණ දීපු සිද්ධියක් ගැන. ඒ කාලෙ මගේ වයස අවුරුදු 17 යි. පාසල් ගිහින් විභාගයටත් පෙනී ඉඳල නිදහසේ ඉන්න දවස් නිසා මම ඒ කාලෙ දන්න අඳුනන හිතවත් බාස් උන්නැහේ කෙනෙක්ගෙ රුවන්වැල්ලෙ තිබ්බච්ච කඩයක වැඩ කරන්න ගියා. දන්න අඳුනන කෙනෙක් නිසා උදව්වටත් එක්ක තමයි ගියේ. ඉතිං ඒ කඩේ ඉඳගෙන අයකැමි වැඩෙයි, බඩු කිරන වැඩයි සේරමත් මම කළා. ඒ පළාතෙ කැලණි ගඟයි ගුරුගොඩ ඔයයි සම්බන්ධ වන තැන එක්තරා නාන තොටක් තියෙනවා. හැබැයි ඒක මාරක ස්ථානයක්. අවුරුද්දකට සැරයක් කවුරුහරි බිලි ගන්නවා. ඒ ස්ථානයේ අක්වැල්ල කියල තැනක් තියෙනවා. රැල්ල ගහගෙන ගිහින් සියුම් වැල්ලක් ඇති වෙච්ච තැනක්. එතනින් පොඩ්ඩක් එහාට ගිය හැටියෙ අක්වැල්ල කඩාගෙන ජල පහරට ගහගෙන යනවා. නැවත එන්න බෑ. ඇදලම යනවා. ගියොත් එහෙම රළ පාර යටින් තමයි ගෙනියන්නෙ. ඉතිං මැරෙනවම තමයි.

මමත් දවසක් ඔය ස්ථානයේ තනියම නාන්න ගියා. ඒ වෙලාවෙ එතන කවුරුවත් හිටියෙ නෑ. නාන තැනට බැහැල මම ටික ටික ඈතට ගියා. වැඩිපුර එහාට නෙවෙයි, ඉණ මට්ටමට එනකල්. එතනින් අඩිය තිව්වම මට ආපසු එන්න බැරිව ගියා. දැන් මම රළ පාරට ගහගෙන යන්න ඕන්න මෙන්න. ගොඩ පැත්තට එන්න දඟලුවත් එන්න බෑ. ඒ අතර තවත් දෙන්නෙක් එතනට නාන්න ආවා. ඒ දෙන්නත් පාන් පෝරනුවක වැඩ කරන, මම දන්න අඳුනන අය. ඒ අය මට ඈත ඉඳන් කෑගහල කිව්වා, මල්ලි ඉක්මනට මෙහාට එනව ඔච්චර ඈතට යන්න එපා කියල. ඉතිං මමත් කෑ ගහල කිව්වා, එන්න බැරිව ඉන්නෙ පුළුවන් නම් ඇදල ගන්න කියල. දැන් ඒ දෙන්නත් කතා වෙනවා. මචං මටත් පීනන්න බැනෙ, උඹටත් පීනන්න බෑ. දෙන්නටම පීනන්න බෑ. ඔය අයිනෙ අඹ මුලක් තිබුනා. එක් කෙනෙක් එක අතකින් අඹ මුල අල්ලගෙන පුළුවන් තරම් අනික් අත මට දික් කළා. අනෙක් කෙනත් ඒ විදිහටම අල්ලගෙන මට අත දික් කළා. අන්තිමට මම ගැස්සිලා අහකට යන්න හදන කොටම යන්තමට එක් කෙනෙක්ගෙ ඇඟිල්ලක් අහු වුනා. අහුවෙච්ච ගමන් මිරිකල අල්ලගෙන මම උඩට පැන්නා. අනූ නවයෙන් බේරිලා ගොඩ ආවෙ. ඒ දෙන්නා නිසා බේරුනා. මම බේරුනාට පස්සෙ ඒ ස්ථානයේ අවුරුදු 7 ක් යනකල් බිල්ලක් ගත්තෙ නෑ. නැත්නම් හැම අවුරුද්දකම බිල්ලක් ගන්නවා. අවුරුදු 7 කින් පස්සෙ දන්ත වෛද්‍යවරයෙක් බිලි අරගෙන තිබුනා.

ඉතිං මගේ ඒ මාරක අවස්ථාවෙ අර දෙන්න පුදුම විදිහට තමයි සම්බන්ධ වුනේ. ඒ දෙන්න ආවෙ නැත්නම් මට මොනවත් කරගන්න බෑ. දියේ ගිලිල මැරෙනවා. ඒ වෙලාවෙ ඇත්ත වශයෙන්ම මරණ බය කියන එක පුදුම විදිහට ඇති වුනා. එදා ඉඳල මම මදුරුවෙකුටවත් අතින් ගහන්නෙ නෑ. ඒ කියන්නෙ මදුරුවෙකුටත් මරණ බය ඇති වෙනවනෙ කියන හැඟීම එන්න ගත්තා. ඊට ඉස්සර නම් මදුරුවෙක් ඇඟේ වහපු ගමන් මම ටක් ගාල ගහනවා. අර සිද්ධියෙන් පස්සෙ මදුරුවෙක් ආවත් නිකං පිහිදානව විතරයි.

ඔය වගේ තවත් සිද්ධියකට මම පූගොඩ පෙහෙකම්හලේ වැඩ කරන කාලෙදි මුහුණ දුන්නා. ඒ කාලෙ රටේ හැමතැනම වී. ඕ. සී. (VOC) භාණ්ඩ හොයන පිස්සුවක් තමයි තිබුනෙ. තියෙන ආර්ථික ප්‍රශ්නත් එක්ක පවුලෙ ඔක්කොමත් නඩත්තු කරන්න ඕන නිසා ඉතිං මමත් කීයක් හරි වැඩිපුර හොයාගන්න කියල ඒ කාලෙ රටත් හැම තැනම ඕව හොයන්න යනවා. ඉතිං අපේ වැඩපොළේ පාපැදි 2 ක් තිබුනා. දෙන්නෙක් එක්ක එක පාපැදියක නැගල, මම අනිත් එකේ ගියා VOC භාණ්ඩ හොයන්න. යනකොට හංවැල්ලෙන් අලුත් පාරට වැටෙන්න තවත් පාරක් තිබුනා. ඒක විසාල ඉඩක් තියෙන පාරක්. දැන් අපි ඒ පාරෙන් එහා පැත්තට යන්න ඕන පාර හරහා. පාර හරහා මැදක් යනකොට අනිත් පැත්තෙන් විසාල වාහනයක් පිඹගෙන එනව මම දැක්කා. මට පේනවා ඒ වාහනය මගේ ඇඟටම එනව වගේ. දැන් ඉතිං මට හිතාගන්න බෑ මොකක් කරනවද කියල. මම මොකද කළේ, පාපැදිය අනිත් පැත්තට හරවල ආපසු පැද්දා. එතකොට ඒ වාහනයේ රියදුරාට කරන්න දේකුත් නෑ. මට පෙනිච්ච හැටියට එහෙම කරන එක සුදුසුයි කියල හිතුන නිසයි මම එහෙම කළේ. වාහනය ඇඟේ ගෑවෙන්න ඕන්න මෙන්න කියල තියෙද්දි තමයි මම පාපැදිය එහාට ගත්තෙ. ඉතිං ඔහු මට තිත්ත කුණුහරුපෙන් බැනල යන්න ගියා. වැදුන නම් කැලිවත් ඉතිරි වෙන්නෙ නෑ, කුඩු වෙනවා. ඒ තරම් වේගයෙන් තමයි ආවෙ. ඒ වෙලාවෙත් ක්ෂණිකවම මරණ බය ඇති වුනා. දහම ගැන මූලික අවබෝධය තිබුණත් මරණ බය හොඳටම තිබුනා.

තවත් අවස්ථාවක මම පැදගෙන ගිය පාපැදියෙ පොඩි ළමයෙක් හැප්පිලා අමාරුවෙ වැටුනා. ඒ දවස්වල මම ගෙදර ඉඳන් පූගොඩ පෙහෙකම්හලට පාපැදියෙන් යනකොට මනමාලිගෙ පල්ලම කියල ප්‍රදේශයක් පහු කරනවා. ඒ ස්ථානයෙත් වැටුනොත් මොනවහරි ලොකු දෙයක් වෙනවමයි. එක්කො මැරෙනවා. එහෙම නැත්නම් අතපය කැඩෙනවා. දවසක් මම ඒ ස්ථානය පහු කරගෙන යනකොට පොඩි ළමයෙක් අතින් අල්ලගෙන ආච්චි කෙනෙක් නාන්න යන්න ලෑස්ති වෙනවා. හරියටම මම කිට්ටුවට එනකොටම මේ ළමය ආච්චිගෙ අතත් අත් ඇරල පාරෙ අනික් පැත්තට පැන්නා. එතකොට මම පාරෙ හරි පැත්තෙන් තමයි ගමන් කළේ. අනෙක් පැත්තෙ කෙනෙකුට පයින් ඇවිදගෙන යන්න ඉඩ තියලයි මම ගියේ. ඉතිං හොඳට ඉඩ තියෙන නිසා මම පාපැදිය නැවැත්තුවෙත් නෑ. නමුත් ඒ අයගෙ තියෙන නොසැලකිල්ල නිසා පාර හරහට පනින කොටම මට කරන්න දෙයකුත් නෑ. පල්ලම නිසා තිරිංග තද කළත් හරියට වැදුනෙ නෑ. ඒ නිසා මම විගහට අනිත් පැත්තට හැරෙව්වා. ඒ පාර මේ ළමය ආයෙමත් අනෙක් අතට පැන්නා. මේ ළමයගෙ ඇඟේ වදින නිසා මම නැවතත් අනෙක් පැත්තට හැරෙව්වා. මම පාපැදිය හරවන පැත්තට මේ ළමයත් පනිනවා. හරියටම පාර මැද්දෙදි ළමයගෙ ඇඟේ හැප්පිලා ඇදගෙන වැටුනා. අවුරුදු 3 ක විතර පොඩි කෙට්ටු ළමයෙක්. ළමයගෙ කකුලෙ මැහුම් 3 ක් දාන්න තරම් ලොකු තුවාලයක් හැදුනා. එතනදී මම වැටෙයි කියන බයක් නෙවෙයි තිබුනෙ, ආපු වේගෙට ළමයට මොනව වෙයිද දන්නෙ නෑ කියන බය තමයි තිබුනෙ. පල්ලමේ නිසා නවත්වන්නත් බෑ.

පස්සෙ වටේ හිටපු මිනිස්සුත් ඒක දැකල තිබුනා. ඒ අයත් කිව්වා පොඩි ළමයගෙ වැරැද්ද මහත්තය මොනව කරන්නද කියල. මොකද මේ ළමය හදිස්සියේ පැන්නෙ. ඒ ළමයගෙ තාත්තත් ඒ වෙලාවෙ හොඳටම බීල හිටියෙ. ඒ පාර මනුස්සයත් කියන්න ගත්තා, ඔයා ඔයාගෙ වැඩකට යන්න මේ මහ එකී දැනගන්න එපැයි පැටව් නාවන්න ගෙනියනකොට හරියට පාරෙ යන්න කියල. නමුත් ඉතිං මට මග ඇරල යන්නත් බෑ, මේ පොඩි එකෙක්. ඒ වෙලාවෙ තවත් අඳුනන ළමයෙක් ආවා. මම ඉතිං වැඩට යන එකත් නවත්තල ඒ ළමයත් එක්ක එකතු වෙලා රෙදි පටියකින් මේ ළමයගෙ කකුල ඔතල පූගොඩට එක්කගෙන ආවා. එතනදී කිව්වා, මැහුම් දාන්න ඕන වෙයි සනීප වෙන්න පරක්කු වෙයි කියල. නමුත් ඉතිං ඒ අය බයවෙයි කියල ඒ කාරණය නොකිය එතනදී බේත් දැම්මා. පස්සෙ මම මාසයක් විතර යනකල් මගේ කැමැත්තෙන්ම බේත් ගන්න සල්ලි දුන්නා. ඒ කාලෙ මටත් ලොකු මුදල් අගහිගකම් තිබුනත්, ඒ අයත් නැති බැරි අය නිසා මගේ යුතුකමක් වශයෙන් තමයි මම එහෙම කළේ.

ඒ වගේම මීට කලින් විස්තර කරපු, මට පංච පාසානම් කියන වස දීපු සිද්ධියෙදි (14 සහ 60 වන කලාප බලන්න) කියන්න බැරිවෙච්ච කාරණා ටිකකුත් තියෙනවා. ඒ කාලෙ මට වස දීපු ඒ වෙද මහත්තය හිටපු ළඟපාතක බුලත්විට විකුණන අම්මා කෙනෙක් හිටියා. අලුතින්

පුවක් ගෙනාවම මම බුලත්විට ගන්නව කියල දන්න නිසා ඒ අම්ම මට වෙනම පුවක් ගෙඩි 2 - 3 ක් අරන් තියනවා. උන්දෑ මට බොහොම හිතවත්. මට පොඩි වෙද මහත්තය කියල තමයි කතා කරන්නෙ. ඉතිං ඔය ප්‍රශ්නෙ වෙච්ච කාලෙ උන්දෑ මට කියනවා, පොඩි වෙද මහත්තය ඔහෙන් යනව නම් එහෙම කට ඇරල කියන්න එපා යනව කියල, හිටි ගමන් යන්න ආයෙ පැත්ත පළාතකවත් එන්න එපා කියල. මම හේතුවක් උඩයි එහෙම කියන්නෙ, මම කියනව කියල අඟවන්නවත් එපා කිව්වා. එයා හරි වසයි, එයා ළඟ පංච පාසානම් කියන විස බෙහෙතක් තියෙනවා, එයා එයාගෙ පවුලටත් ඒක දීල තමයි පවුලත් මළේ, ඒක අපි දන්න කාරණයක් කියල ලොකු විස්තරයකුත් කිව්වා. ඉතිං ඒ නිසා බැරි වෙලාවත්, කියල යන්න එපා, අදම යන්න, මට නම් දැනටමත් විස්වාස නෑ කියලත් කිව්වා. කිව්ව වගේම ඒ වෙනකොටත් මට වස දීල ඉවරයි.

ඉතිං දුන්නට ඒක මොන වගේ විසක්ද කියල හොයන්න බෑ. මොකද එතනදි රසායනික ප්‍රතික්‍රියාවක් නෙවෙයි වෙන්නෙ. ඒක නිකං මිශ්‍රණයක් විතරයි. ඒ විස ගිහින් කෙලින්ම ඇල දිවේ, වකුගඩුවේ රැඳිල අන්තිමට බඩවැල්වලත් රැඳෙනවා. ඊට පස්සෙ ඇඟ හැම තැනම යනවා. අන්තිමට ඉන්සියුලින් නිෂ්පාදනය නතර වෙලා දියවැඩියාව එනවා. ඒත් එක්කම අනෙක් ලෙඩ ටිකත් එනවා. බඩ හොඳටම වේලෙනවා, වේදනාව අප්‍රමාණයි. ඉතිං ඒකෙන් සෑහෙන්න දුකක් වින්දා.

ඒකෙන් පස්සෙ තමයි මට විරුද්ධව හූනියම් කරන්න ගිහින් අමනුස්සයෙක් එවල ඒ වෙද මහත්තය කොටු වුනේ. මට විරුද්ධව ඔහු දෙපාරක් පිල්ලි එව්වා. පිල්ලියක් එවනකොට අමනුස්සයෙක් සම්බන්ධ කරල තමයි එවන්නෙ. හැබැයි ඒ එවපු අමනුස්සය මම දන්න අඳුනන අමනුස්සයෙක්. ඒ කියන්නෙ ඉස්සර පාතාල බහිරව කියල දෙයක් තිබුනා. මමත් අත්හදා බලන්න ඒ කටයුතු කරල ඒවායින් මිනිස්සුන්ට උදව් කරල දීලත් තියෙනවා. හැබැයි කවදාවත් කාටවත් කරදර හිරිහැර කරන්න නම් ඒ වගේ දේවල් යොදා ගත්තෙ නෑ. වළක් හාරල වළේ පූජාවක් තියල කැප කරල මිනිස්සුන්ගෙ සාධාරණ ඉල්ලීම් ඉටු කරල දෙන්න කියල ඉල්ලීමක් තමයි කරන්නෙ. ඊට පස්සෙ පහනෙන් තෙල් ටිකක් අරගෙන ඒ ඉන්න අයගෙ ඔළුවෙ ගාල යවනවා. එච්චරයි කරන්නෙ. මම එදත් කවුරුවත් කිව්ව පලියට යමක් පිළිගත්තෙ නෑ. ඉතිං ඔය වගේ ගුප්ත කටයුතුවලදිත් ඒවායෙ සත්‍ය අසත්‍යතාවය හොයන්න, ඒ ක්‍රම රටාව හොයන්න මමත් ඔය පුළුවන් හැම එකක්ම අත්හදා බැලුවා. ඊට පස්සෙ තමයි ඒවා අත් හැරල බුදු ගුණවලින් විතරක් වැඩ කරන්න ගත්තෙ.

ඉතිං මේ පිල්ලියත් එක්ක අර අමනුස්සය එවනකොට, මාව දැක්ක ගමන්ම ඒ අමනුස්සය මාව අඳුනගෙන මට වැඳල කිව්වා, ඔබව මරන්න කියල මට මෙහෙම අණ කළා ඒකයි මම ආවෙ කියල. එව්වෙ මාව මරන්න කියල නියෝග දීල. ඒත් මාව දැක්ක ගමන්ම වැඳ ගත්තා. මේ මහ යක්ෂ අමනුස්සයෙක්. ඒත් අඩි 4 ක් විතර වෙන්න ශරීරය පොඩි කරගෙන තමයි මාව හමුවෙන්න ආවෙ. ඉතිං මම ඒ අමනුස්සයට කිව්වා, අවිහිංසාවාදී වෙන්න, එක එක්කෙනාගෙ කියමන් පිට අසත්පුරුෂ වැඩ කරල තමන් නිකං අමාරුවෙ වැටෙන්න එපා, මේක සෙල්ලම් පාපයක් නෙවෙයි, ඒ නිසා කවදාවත් මට විතරක් නෙවෙයි කාටවත් ඒ වගේ දෙයක් කරන්න එපා කියල. එහෙම කියල, ඔබට අවශ්‍ය පුණ්‍ය සැප සම්පත් ඕන තරම් ලැබෙන්න කියල මම අධිෂ්ඨාන කරන්නම්, ඔබට වෙන ප්‍රශ්නයක් නෑ මේ සම්පත් අරගෙන හොඳින් ඉන්න, මීට පස්සෙ ඔය වගේ කිසි කෙනෙක් කියන දෙයක් අහන්න එපා කියල මම කිව්වා. එහෙම කිව්වම මේ අමනුස්සය බොහොම ගරු කරල නැවතත් හැරිල යන්න ගියා.

ඊට පස්සෙ මේ පිල්ලිය එවන්න බැරි වුනාම තමයි අර වෙද මහත්තය දෙවෙනි වතාවටත් බල ගන්වන්න ජීවම් කළේ. ඒක මිනී ඔළු කට්ටෙ තෙල් හිඳල කරන්න තියෙන වැඩක්. එහෙම ජීවම් කළාම අමනුස්සය එතනට පේන්නම එනවා. හැබැයි ජීවම් කරන කෙනා බිම බලාගෙන ඉන්න ඕන, උඩ බලන්න බෑ. උඩ බැලුවොත් අමනුස්සය දැකල බය වෙනවා. බිම බැලුවම ඒ අමනුස්සයගෙ මහ විසාල කකුල් දෙක පේනවලු, නියපොතු ටිකයි ලෝම ටිකයි රතු පාටටයි කළු පාටටයි එකින් එක නැමිල තියෙනව පේනවලු. එතකොට තමයි දිෂ්ටිය හරි කියල දැනගන්නෙ. ඒ වෙලාවෙදි තමයි උඩ නොබල තෙල් ටික බාගන්න කියන්නෙ. යම් කිසි විදිහකින් උඩ බැලුවොත්, අමනුස්සයට බය වෙලා ඒක කරන අයත් වෙව්ලල යනවා. ඒ තරම් භයානකයි. මම ඒ වගේ වැඩ නම් කරල නෑ.

ඉතිං ඒ තෙල වෙන් කරගෙන තමන්ට ඒකෙන් ආරක්ෂාවක් කරගෙන තමයි පාතාල අඳුනෙන් බලල පිල්ලිය එවන්නෙ. ඒකට ඔය කියන පාතාල බහිරවයො තමයි සම්බන්ධ වෙන්නෙ. මහ පොළොවට සම්බන්ධ නිධාන සම්පත් ආදියට බැල්ම දාගෙන ඉන්න අය තමයි පාතාල බහිරව කියන්නෙ.ඒක මහ පුදුම සිද්ධියක්. දැන් මේ මහ බලවත් යක්ෂ අමනුස්සයෙක් තමයි මාව මරන්න එව්වෙ. ඒකා මහ දළ තියෙන, මුහුණ රෞද්‍ර, රතු පාට නියපොතු තියෙන තනිකර අමනුස්සයෙක්. ඉතිං පළවෙනි වතාවෙ ඒ අමනුස්සය මාව අඳුනගත්ත නිසා දෙවෙනි වතාවෙ එවන්න බැරිව ගියා. 108 වතාවක් ජීවම් කරන්න පෙර අර වෙද මහත්තයගෙ කට හිර වෙලා පපුව හිර වුනා. ඊට පස්සෙ කලන්තෙ හැදිල වැටිල හුස්ම ගන්න බැරිව ගියා. මුළු ඇඟම ඇඹරෙන්න ගත්තා. කවුරුවත් උදව්වට තියාගෙනවත් නෙවෙයි ඔහු ඒ ජීවම කළේ. ඒ නිසා කවුරුවත් පිළිසරණට හිටියෙත් නෑ. ඊට පස්සෙ ශරීරය ඇඹරිලා ගිහින්, යක්කු මාව අඹරවනවෝ කියල කෑ ගහන්න පටන් ගත්තා. ඉතිං අසාධාරණයක් කරන්න හදපු නිසාම වෙන්න ඇති එහෙම හිර කළේ. පස්සෙ ඕක වෙන කෙනෙක් දැකල අසනීපයක් කියල හිතල ඉස්පිරිතාලෙට ගෙනිහින් දැම්මා. හැබැයි ගෙදර අයවත් බලන්න ගියේ නෑ. එහෙම්ම මළා. මැරිල කියල කවුරුවත් දන්නෙත් නෑ. අසනීප වෙලා ඉස්පිරිතාලෙ ඉන්නව කියල තමයි හිතුවෙ. කවුරුහරි වෙද මහත්තය බලන්න යං කිව්වොත්, ගෙදර අය සල්ලි නෑ කියනවා. සල්ලි දුන්නම ගිහින් බලල එන්න කියල, ඒකෙන් කසිප්පු ටිකක් බීල මොනවහරි දෙයක් කාල, හා දැන් වෙද මහත්තයට ප්‍රශ්නයක් නෑ හොඳයි, හෙට අනිද්දට එයි කියනවා.

ඔහොම ඉන්නකොට අන්තිමට මිනිය කුණු වෙලා දවස් 7 ක් ගිහින් මෝචරිය ඇතුලෙ. මොකද කවුරුවත් අයිතිකාරයෙක් නැති නිසා. දැන් ඉතින් හෙට අනිද්දට හොඳ වෙලා ගෙදර එනව කිව්ව නිසා, වෙද මහත්තය බලන්න අර මනුස්සය රෝහලට ගියා. ගියාම මේ මනුස්සයට වෛද්‍යවරු හොඳටම දොස් කියල බැන්නලු, තමුසෙල මෙහෙම ගෙනත්

දාල යනව කියල. ඉතිං ඒ මනුස්සය කිව්වලු, මගේ කවුරුවත් නෙවෙයි, මම අඳුනන කෙනෙක්, මම මේ ගෙදර අයටත් සල්ලි දීල ආවා ඇවිත් බලල යන්න කියල. මට වෙදකම් කරපු වෙද මහත්තය නිසා අනුකම්පාවටයි මම එහෙම කළේ කියල කිව්වලු. අන්තිමට ඉතිං බාර ගන්න අයිතිකාරයෙක් නැති නිසා රජයේ වියදමින් එහෙම්ම වළ දම්මලු. මිනියවත් ගෙදරට ගෙනාවෙ නෑ. පාංශුකූලයවත් නෑ. දැන් මේ කොහොමට හිටිය මනුස්සයෙක්ද? නිකම්ම බල්ලෙක් වගේ තමයි අන්තිමට මැරිල ගියේ. ඔහු කරපු අසත්පුරුෂ වැඩ ඔහුටම කැරකිලා ආපු හැටි.

ඉතිං මේ අතරතුර තමයි යමපල්ලො ඇවිත් ඔහුගෙ මනෝ කාය මගේ ඉස්සරහට ගෙනාවෙ. මොකද මස් ලේ කයින් ඉවත් වෙලා යනකොටම ඒ අය සියුම් කය ඇදල ගන්නවා. ඉතිං එතනට ගියාම තේරෙන්නෙ නෑ මේ පාපයක් ඵල දෙන්න එනව කියල. ඒක පිළිගන්නෙත් නෑ. අන්තිමට ඒ දුක් වේදනාවන්ට මුහුණ දෙන්න වෙනකල්ම කාරණය පිළිගන්නෙ නෑ. ඒ තරම් දෘෂ්ටිය බලවත්. අන්තිමට ගිනි අපායෙදි පිච්චෙනවෝ කියල කෑ ගැහුවා. එතකොට වරද පිළිඅරගත්තත් වැඩක් නෑ. ඊට පස්සෙ ගින්දරයි පුද්ගලයගෙ ශරීරයයි දෙකම එකයි. තව කෙනෙක් ඇතුලෙ ඉන්නවද කියලවත් හොයන්න බෑ. කෑ ගැහුවත් ඇහෙන්නෙ නෑ. ඒ වෙලාවෙ ගත්තු වේදනාවෙ මානසිකත්වය තමයි ඒ විපාකය ගෙවිල ඉවර වෙනකල් දිගටම තියෙන්නෙ. ඉතිං මැරි මැරී උපදිනව කියන්නෙත් ඕකට තමයි.

ඒ ගිනි අපායෙ අඬන්න පිට කරන්නවත් එක හුස්ම පාරක්වත් ගන්න බෑ. එහෙම සහනයක්වත් නෑ. ඉතිං කොච්චර කාලයක් නම් ඔය දුක විඳවන්න වෙනවද? මොන තරම් වික්ෂිප්ත වෙනවද? අසහනයක්ද? කය දැවිල්ලට පිච්චෙන කොට ඒකට ඔරොත්තු දෙනවා, මැරෙන්න නෑ. මනසත් ඔරොත්තු දෙනවා. මොකද වෙන විකල්පයක් නැති නිසා. තියෙන උපරිම වද වේදනා විඳින්න වෙනවා. කරන කලට පව් මිහිරිය මීසේ - විඳින කලට දුක් දැඩි වෙයි ගිනි සේ කියන්නෙ ඕකට තමයි. දැන් මේ අවුරුදු 30 - 40 ක් තරම් කෙටි ජීවිත කාලයකට අනුන්ට හිංගි හිංසා කරල හරි තමන් වැජඹෙන්න කියල ගත්තු මානසිකත්වයේ ප්‍රතිඵලය තමයි මේ විඳවන්නෙ.

ඉතිං මේ කතාව නැවතත් මතක් කළේ, මම ඔය වගේ අණවින කොඩිවින හදි හූනියම්වලින් හොඳටම බැට කාපු නිසා ඒ අත්දැකීම් අනිත් අයටත් කියන්න. මම ඒ වගේ දේවල්වලින් සෑහෙන දුක් වින්දා. නමුත් ඒව කරපු අය අද නිකං අපාගත වෙලා එකට දහස් වාරයක් දුක් විඳිනවා. හැබැයි මගේ හිතේ අදටත් ඒ අය කෙරෙහි වෛරයක් තරහක් නෑ, අනුකම්පාවක්මයි තියෙන්නෙ. ඒ මේ දහම් අවබෝධය නිසා. ඒත් ඉතිං මේ කෙටි ජීවිත කාලයට මම මොන තරම් යහපත් කටයුතු කරගෙන හිටියත්, මොන තරම් නම් කායික මානසික දුකක් මට විඳවන්න වුනාද? සසරෙ තියෙන භයානකත්වය තේරුම් ගන්න අනෙක් අයටත් මේ කාරණා වැදගත් වෙයි.

ඉතින් මේ විදිහට කාම ලෝකයේ මනුස්ස උප්පත්තියකට ආවම, විශේෂයෙන් ගිහි වතක ඉන්න කොට විඳින්න සිද්ධ වෙන දුක් ගැහැට ගැන මජ්ජිම නිකායේ මහා සීහ නාද වග්ගයේ එන මහා දුක්ඛක්ඛන්ද සූත්‍රයෙත් බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරල තියෙනවා.

''මහණෙනි, කාමයන්ගේ ආදීනව කවරේද? මහණෙනි, මේ ලෝකයේ කුල පුත්‍රයෙක් යම් ශිල්පයකින්, හස්ත මුද්‍රායෙන් හෝ අච්ඡිද්‍ර ගණනායෙන් (ගණන් මිනුම්වලින්) හෝ පිණ්ඩ ගණනායෙන් (පිඬු වශයෙන් යමක් වෙන්කර ගන්නා මැනීම් ආදියෙන්) හෝ සී සෑමෙන් හෝ වෙළඳාමෙන් හෝ ගව පාලනයෙන් හෝ අවි ගෙන රජුට කරන උවටැනින් හෝ අවියෙන් තොරව රාජ සේවා කිරීමෙන් හෝ අන්‍යතර ශිල්පයකින් හෝ සීතයෙන් පෙළුණේ උෂ්ණයෙන් පෙළුනේ මැසි මදුරු සුළං අව් සප් යන මොවුන්ගේ පහසින් ගැටෙමින් සා පිපාසයෙන් මැරෙමින් ජීවිකාව කෙරෙයි. මහණෙනි, කාමයන්ගේ උපද්‍රව වූ තමා විසින්ම දක්ක යුතු වූ මේ දුක් රැස කාමය හේතුකොට කාමය මූල කාරණය කොට කාමය කරුණු කොට ඇත. කාමයන්ගේම හේතුවෙන් වෙයි.”

කාම ලෝකයෙදි විඳින්න සිද්ධ වෙන දුක් ගැහැට සම්බන්ධයෙන් උපමාවන් කිහිපයක් විතරයි මේ පෙන්වා තියෙන්නෙ. මොන දේකින් හෝ කාම ලෝකයේ ජීවිතය පවත්වන්න රස්සාවල් කරන්න ගිහින් දුක් විඳින්න සිද්ධ වෙනවනම් ඒ සියල්ලම මේකට අයිතියි. මේ දුකෙන් ගැලවිලා ගෙනියන ජීවිකාවක් කාම ලෝකයේ නෑ.

ඉතිං ගිහි කාලෙදි වින්ද දුක් ගිනි සම්බන්ධයෙන් ඔය ජීවිත කතාව බොහොම කෙටියෙන් තමයි කිව්වෙ. මේ කෙටි ජීවිත කාලය තුළ විඳින්න සිද්ධ වෙච්ච දුක් ගිනි කන්ද ඔහොම නම්, පෙර අත්බැව්වල කොහොම දුක් ගිනි කඳන් විඳින්න ඇත්ද? මතුවටත් මේ විදිහටම ගියොත් සසර කොහොම නම් ගිනි කඳුවලට මුහුණ දෙන්න වෙයිද? කෙනෙකුට දිවැස්, සමාධි නැති වුනත් ප්‍රඥාව තියේ නම් මේ කාරණය තේරුම් ගන්න පුළුවන්.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ.

වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)

0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072

# ඔබ ආර්ය පර්යේෂකයෙක්ද? අනාර්ය පර්යේෂකයෙක්ද?

**5 වන කොටස**



**ශ්‍රාවක :** අදත් අපි වැරදියට තේරුම් අරන් තියෙන කාරණයක සැඟවිලා තියෙන සත්‍යය දකින්න පුළුවන් විදිහෙ සාකච්ඡාවක් කරමු.

**දේශක :** ඔව්, අපි හැමෝම මේ ලෝකෙ දිගින් දිගටම ඉන්න හදන්නෙ වැරදියට වටහගෙන ඉන්න නිසා තමයි. අපි හැමෝම අත්දකින්නෙ මේ තියෙන ලෝක ස්වභාවය පිළිබඳව. ජාති ධම්ම, ජරා ධම්ම, ව්‍යාධි ධම්ම, මරණ ධම්ම, ශෝක ධම්ම, සංක්ලේශි (කෙළෙස් සහිත) ධම්ම කියල කොටස් ගණනකට බෙදල වෙන් කරල මේ ලෝක ස්වභාවය ගැන ඉතා පැහැදිලිව බුදු රජාණන් වහන්සේ පෙන්වල දීල තියෙනවා. මේ ලෝකෙ හැම තැනම විද්‍යමාන වෙන මේ හටගන්නා ස්වභාවය, දිරල වයසට යන ස්වභාවය, ලෙඩ වෙන ස්වභාවය... ආදිය ගැන ඔබ සාමාන්‍යයෙන් දැනගෙනද ඉන්නෙ?

**ශ්‍රාවක :** ඔව්, මට ඒ ගැන සාමාන්‍ය වැටහීමක් තියෙනවා. ඔය සියල්ල ස්වභාවයෙන්ම අපිට උරුම වෙලා තමයි තියෙන්නෙ. ඒවාට අපි මුහුණ දෙනකොට මහා දුකක් තමයි දැනෙන්නෙ. සමහර අයට ඔය දේවල් දරාගන්න බැරිව සිය දිවි හානි කරගන්න අවස්ථාත් තියෙනවා.

**දේශක :** ඒ වගේ දුක් දෙන ධර්මතාවයන් පසුපස හඹා ගිහින් ඒවා අත්පත් කරගෙන ඉන්න ඔබ කැමතිද?

**ශ්‍රාවක :** අපොයි නෑ. කවුද එහෙම මෝඩ වැඩ කරන්නෙ. කවුද කැමති කැලේ ඉන්න නයි ඔඩොක්කුවෙ දාගෙන කනවෝ කනවෝ කියල කෑගහන්න.

**දේශක :** හරි, ඒකත් ඇත්ත තමයි. ඒ වුනාට හැමෝම කරන්නෙත් ඒකම තමයි. ඔබ මේ ලෝකය පසුපස හඹා-ගෙන යන්නෙ මොනව හොයාගෙනද?

**ශ්‍රාවක :** සැප ගෙන දෙන දේවල්, සතුටක් ලබාගන්න පුළුවන් දේවල් හොයාගන්න තමයි අපි නිතරම වෙහෙසෙන්නෙ.

**දේශක :** මට පොඩ්ඩක් විස්තර කරන්න පුළුවන්ද, ඔබ සැප සතුට ලබාගන්න කියල මේ ලෝකෙ වෙහෙස වෙවී හොයාගත්තෙ මොන වගේ දේවල්ද කියල?

**ශ්‍රාවක :** මේ ලෝකෙ තියෙන විවිධ භාණ්ඩ වර්ග, ඒ වගේම විවිධ පුද්ගලයන් ඇසුරු කරලත් සැප සතුට තමයි බලාපොරොත්තු වෙන්නෙ.

**දේශක :** උදාහරණ කිහිපයකුත් කියන්න. ඔබත් ඉතින් උදාහරණවලින් මේවා පෙන්වල දෙනවට ගොඩාක් කැමතියිනෙ.

**ශ්‍රාවක :** අපි කුඩා කාලයෙදි සෙල්ලම් බඩුවලට තමයි ගොඩාක් ආස කරන්නෙ. හැබැයි ඉතින් ලොකු වෙනකොට ඒක වෙනස් වෙනවා. විවිධ ඇඳුම් පැළඳුම්, ඒ වගේම රන් ආභරණ, යාන වාහන, ගේ දොර ඉඩකඩම් ආදිය ලබාගන්න තමයි ගොඩාක් ආස කරන්නෙ. ඒවා ඔක්කොම වැඩි වැඩියෙන් තියෙනව නම් ඉතින් ඊටත් වඩා සැපයක් තව කොයින්ද?

**දේශක :** හොඳ ආදායම් මාර්ගයක් හදාගෙන ඔය කියන දේවල් ලබාගත්තට පස්සෙ සැප ලබාගන්න තව මොනවද අවශ්‍ය වෙන්නෙ?

**ශ්‍රාවක :** තරුණ වයසට පත්වෙන කොට අපි සහකාරියක්, එහෙමත් නැත්නම් සහකරුවෙක් හොයාගන්නෙ ඉදිරි ජීවිත කාලය සතුටින් ගත කරන්න ඕන නිසා තමයි. තම තමන්ගෙ කැමැත්තට අනුව හොඳ සහකරුවෙක් / සහකාරියක් හම්බ වුනොත් ඉතිං අපි කවුරුත් ඒක සලකන්නෙ ලොකුම සැනසීමක් විදිහට. හැබැයි ඉතින් විවාහ වුනාට පස්සෙ පොඩි පොඩි ප්‍රශ්න ඇති වෙනව තමයි. ඒත් ඉතින් ඒ පොඩි ප්‍රශ්න අත්හැරල දාල ඉදිරි ජීවිතය සතුටින් ගත කරන්න තමයි උත්සාහ කරන්නෙ.

**දේශක :** හොඳයි එහෙම තමයි වෙන්න ඕන. අපි හිතමුකො හොඳ සහකාරියකුත් / සහකරුවෙකුත් ලැබිල විවාහ වුනා කියල. ඊට පස්සෙ සැපක් සතුටක් ලබාගන්න නම් තව මොනවද ඕන වෙන්නෙ ?

**ශ්‍රාවක :** ඊට පස්සෙ ඉතිං සැපක් සතුටක් ලබන්න නම් දුවෙක් හරි පුතෙක් හරි

ලැබෙන්න ඕන. ඒ විතරක් නෙවෙයි, ආදායම් මාර්ගයත් වැඩි වෙන්න ඕන. වැඩවලට උදව් වෙන්න වැටුපක් ගෙවල හරි හොඳ කෙනෙක් හම්බ වෙනව නම් ඒකත් ලොකු සතුටක්නෙ. ඒ වගේම ඉතින් හොඳ වාහනයක්, සුඛෝපභෝගී නිවසක්, වටිනා ආභරණ ආදිය... අන්න ඒ වගේ දේවල් ලබාගන්න පුළුවන් වෙනව නම් තමයි හොඳම සැපත ලැබුන වෙන්නෙ.

**දේශක :** බොහොම හොඳයි. ඔබ කියපු දේවල් හරියටම හරි. ඔන්න ඔය ටික තමයි බැරි වුනත් පුළුවන් වුනත් අපි හැමෝම කරන්න උත්සාහ කරන්නෙ. හැබැයි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, අපි ඔය සැප වැඩි වැඩියෙන් ලබාගන්න කියල හොයාගන්න දේවල්වලින්ම තමයි දුක වැඩි වැඩියෙන් ලැබෙන්නෙ කියල.

**ශ්‍රාවක :** ඒ කොහොමද එහෙම වෙන්නෙ? අපි හැමෝම සැහෙන්න වෙහෙස මහන්සි වෙලා කීයක් හරි හම්බකරගෙන ඔය දේවල් ලබාගන්න උත්සාහ කරන්නෙ සැප විඳින්න නෙවෙයිද?

**දේශක :** ඔව් අපි එහෙම කරන්නෙ සැප විඳින්න කියල හිතාගෙන තමයි. නමුත් ඒ ඇතුලෙ හැංගිලා තියෙන දුක අපිට එකපාරටම පේන්නෙ නෑ. හොඳට විමර්ශනය කරල බලන්න, ඒක ඇතුලෙ හැංගිලා තියෙන දුක අපිට එකපාරටම තේරෙන්නෙ නැති වුනාට, ඔන්න ඔය විදිහට හැංගිලා ඉඳල අපිට දුක් දෙන දේවල් පෙන්වල දෙන එක තමයි බුදු රජාණන් වහන්සේ නිතරම කරල තියෙන්නෙ. ඔන්න ඔය විදිහට සැප හොයන වැඩපිළිවෙලට තමයි අනාර්ය පර්යේෂණය කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ. (අරිය පර්යේෂණ සූත්‍රය මජ්ජිම නිකාය 1 - 397 පිටුව) හැබැයි ඔය සැඟවිලා තියෙන සත්‍යය දකින්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාවන්තයෙකුට විතරයි.

**ශ්‍රාවක :** ඔව් මම දැන් ඒකත් හොඳින් දන්නවා. මෙතනදි අපි මොකක් හරි පරීක්ෂණයක් කරන නිසාද ඔය ආර්ය පර්යේෂණය කියල කියන්නෙ?

**දේශක :** ඔව් ඒක පරීක්ෂණයක්ම තමයි. මේ ලෝකෙ ජීවත් වෙන හැම පෘතජ්ජන කෙනෙක්ම වගේ සැප විඳින්න කියල හිතාගෙන අඹු දරුවන් හදාගෙන, ඊට පස්සෙ යාන වාහන අරගෙන රන් රිදී මුතු මැණික් වගේ වටිනා දේවල් රැස් කරගෙන සුඛෝපභෝගී නිවාස ආදිය තමන් සන්තකයට අරගෙන කරන්නෙ සැප විඳින්න කරන පර්යේෂණයක් තමයි. ඒ පර්යේෂණවලින් සැප මාත්‍රයක් ලැබෙනව තමයි. හැබැයි ඔය සැප විඳීම අනිච්චයි, සංඛතයි, පටිච්ච සමුප්පන්නයි, ඛය ධම්මයි වය ධම්මයි කියල කවුරුවත් දන්නෙ නෑ. ඒ කියන්නෙ ආස්වාද බලාපොරොත්තුවෙන් ඒවා ඇසුරු කරන්න ගියාම පහත් තත්ත්වයට පත් වෙලා වැය වෙලා යනවා. (අනිච්ච සූත්‍රය සංයුක්ත නිකාය 4 - 409 පිටුව) මේ දේවල් ගැන ඉතා පැහැදිලිව බුදු රජාණන් වහන්සේ පෙන්වල දෙනකල්ම, සැප විඳින්න කරන හැම පර්යේෂණයකින්ම මහා දුක් කන්දක් විඳින්න ලැබෙනව කියල ඒ කවුරුත් තේරුම් ගන්නෙ නෑ.

**ශ්‍රාවක :** මට තාමත් පැහැදිලි නෑ, ඔය පර්යේෂණයෙන් දුක ලැබෙන්නෙ කොහොමද කියල. අපි ඒ පර්යේෂණය කරන්නෙම සැප ලබාගන්න තියෙන කැමැත්ත නිසාමනෙ!

**දේශක :** ඔව් ඔව්, බුදුහාමුදුරුවොත් දේශනා කරල තියෙනවා, මේ ලෝකයේ ආස්වාදයක් නැත්නම් සත්ත්වයා මේ ලෝකයට ඇලෙන්නෙ නැති බව, ආස්වාදයක් තියෙන නිසා හේතු සහිතවම මේ සත්වයන් ලෝකයට ඇලිල විනාස වෙනව කියල. (සංයුක්ත නිකාය 3 - 119 පිටුව මහාලී සූත්‍රය)

හැබැයි ඉතින් ඒ වුනාට ඒ ආස්වාදයේ ආදීනවත් තියෙනවා. අන්න ඒ ආදීනවය දකින අය හේතු සහිතවම මේ ලෝකෙන් මිදෙන්න කටයුතු කරනව කියලත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඔන්න ඔය ආකාරයට ආදීනවය දකින එක තමයි ආර්ය පර්යේෂණය කියන්නෙ. නමුත් ඉතින් කවදාවත්ම ඒ ආදීනවය දැක්කෙ නැති අය කවදා හෝ මේ සත්‍යය දකින තුරු කරන්නෙ අනාර්ය පර්යේෂණ තමයි.

**ශ්‍රාවක :** ඔය පැහැදිලි කරපු කාරණය නම් බොහොම ගැඹුරු දහම් කාරණයක් බව තේරෙනවා. හැබැයි ඒත් මට නම් හරියටම පැහැදිලි වුනේ නෑ. මට තවත් ටිකක් මේ දහම ගැන විස්තර කරල දෙන්න පුළුවන්ද?

**දේශක :** ඔබ බොහොම උනන්දුවෙන් මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන බව පේනවා. එහෙම උනන්දුවක් තියෙන අයට මේක තේරුම් ගන්න එච්චර අපහසු වෙන්නෙ නෑ. මම තවත් සරලව තේරුම් කරල දෙන්නම්. අපි මුලින්ම කතා කරපු ජාති ධම්ම, ජරා ධම්ම ආදියත් ව්‍යාධි, මරණ, ශෝක කියන ධර්මතාවයන් අතරින් ජරා, ව්‍යාධි, මරණ, ශෝක කියන ධර්මතාවයන් හතර පිළිබඳවත් ඔබ දැනට හිතන ආකාරය ගැන පොඩ්ඩක් විස්තර කරන්න.

**ශ්‍රාවක :** ඒ ස්වභාවයන් හතරම නිසා අපිට ප්‍රශ්නයක් වෙනවා. මේ ලෝකයේ එහෙම ස්වභාවයක් පවතින නිසා අපටත් කවදහරි ඒවා උරුම වෙනවා. ඒ අවස්ථාවලදී ඉතිං අපි කාටත් වෙන්නෙ දුක් විඳින්න සිද්ධ වෙන එක තමයි.

**දේශක :** හොඳයි. ජාති ස්වභාවය කියන්නෙ ඉපදෙන ස්වභාවය. එහෙමත් නැත්නම් යම් හේතුන් නිසා හටගන්නා ස්වභාවය. ඒ ගැන මොන වගේ අදහසක්ද ඔබට තියෙන්නෙ?

**ශ්‍රාවක :** ඒ නිසාමනෙ අද අපි මේ ඉපදිලා ඉන්නෙ. මේ ලෝකෙ තියෙන ගොඩක් දේවල්වලට ඔය ස්වභාවය තමයි තියෙන්නෙ. අපිට සැප විඳින්න අවශ්‍ය වෙන දේවල් ඒ විදිහට හටගෙන තියෙන ඒවට අපි කැමතියි. දරුවෙක් එහෙම ඉපදුනාම අපි කොච්චර සතුටු වෙනවද?

**දේශක :** සංක්ලේස ධර්ම ගැන මම කියන්නම්. ඒවා නිසා තමයි අපේ හිතේ කෙලෙස් හට ගන්නෙ. ඒ කියන්නෙ රාග, ද්වේශ, මෝහවලින් සිත දූෂණය කරගත්තොත් ඉතින් අපට හොඳක් නම් වෙන්නෙ නෑ. වෙනත් විදිහකින් කියනව නම්, ඒ ස්වභාවයට අහුවෙලා තමයි අපි අපේ හිත රාග, ද්වේශ, මෝහ තත්ත්වයට පත් කරගන්නෙ. එහෙම වුනාම අපි පහත් තත්ත්වයකට ඇද වැටෙනවා.

**ශ්‍රාවක :** එහෙම නම් අපිට ඒකෙන් හොඳක් වෙන්නෙ නෑ. ඔය සියලුම ස්වභාවයන් ගැන උදාහරණ කිහිපයක් අරන් විස්තර සහිතව පැහැදිලි කිරීමක් කරගත්තොත් ගොඩාක් ප්‍රයෝජනවත් වේවි කියල මට හිතෙනවා.

**දේශක :** ඔව් එහෙම හොඳයි. මම ඔබට විස්තර කරල දෙන්නම්, එදා බුදු රජාණන් වහන්සේ

ගත්තු උදාහරණම අරගෙන. කුමක් ජාති ධර්ම යැයි කියන්නේද යන ප්‍රශ්නයට බුදු හාමුදුරුවො පිළිතුර දේශනා කළේ, භාර්යාව, දුව, පුතා, දාසි දස්සන් කම්කරුවන් කුකුල්ලු, ඌරෝ, එළු, බැටළුවන්, ඇත්තු, අශ්වයෝ, ගවයෝ, රන්, රිදී, මුතු, මැණික් ආදී දේවල්වලට ජාති ධම්ම කියනව කියල. එතකොට ඒවායේ පංච කාම ගුණ තියෙනවා.

**ශ්‍රාවක** : හරි මට තේරුණා. මේ ඔක්කොම ඉපදෙන ස්වභාවයෙ ඒවනේ. හැබැයි මොනවටද අර පංචකාම ගුණ තියෙන ඒව කියල කිව්වෙ.

**දේශක** : මේ පංච කාම ගුණ ඒ හැම එකකම ස්වභාවයෙන්ම තියෙනවා. එහෙම තිබිච්ච පළියට හිතේ කාමයක් හට ගන්නෙ නෑ. හැබැයි ඒවා ඇසුරු කරන්න ගියාම ඒවා කෙරෙහි සංකල්පිත රාගයක් ගොඩ නගාගෙන කටයුතු කිරීම නිසා තමයි පුද්ගලයෙක්ගෙ හිතේ කාමය හට ගන්නෙ. පුත්තු, දූදරු, භාර්යාව කියන්නෙ අපි කවුරුත් සැප විඳින්න කියල හිතාගෙන තමුන්ටම කියල අයිති කරගත් අය කියල ඔබ දන්නවනෙ. ඒ වගේම අපේ ගෙදරදොර වැඩවලට උදව් කරගන්න කියල දාසි දස්සන් කම්කරුවන් අරගන්නෙත් අපේ වැඩ කටයුතු පහසු කරගෙන වැඩි වැඩියෙන් සැප විඳින්නනෙ.

**ශ්‍රාවක** : ඔව්. අපි ඒ හැම දෙයක්ම සෑහෙන්න වියදමක් දරල කරගන්නෙ අපේ කටයුතු පහසු කරගෙන සැප විඳින්න තමයි.

**දේශක** : ඒ වගේම කුකුල්ලු, ඌරෝ, එළුවො, බැටළුවො වගේ සත්තු තමයි එදා ආදායම් මාර්ග ලබාගන්න ඇති කළේ. ඒ විදිහට අද බැලුවත් එදා තිබිච්ච ඒවා අපි අද කරන විවිධ රස්සාවල්, ව්‍යාපාර ආදියට තමයි සමාන වෙන්නෙ. මේ විදිහට සත්තු ඇති කරල ආදායම් මාර්ග ලබාගන්න අය අදටත් ඉන්නවනෙ.

**ශ්‍රාවක** : ඔව් මට තේරුණා, බුදු රජාණන් වහන්සේගෙ දේශනාව අනුව ඒ කාලෙ සැප විඳින්න කියල සත්තු ඇති කළා. අද අපි සැප විඳින්න කියල විවිධ රැකියාවල් තමයි කරන්නෙ.

**දේශක** : ඇත්තු, අශ්වයො, ගවයො ආදිය එදා භාණ්ඩ ප්‍රවාහනයටයි ගමන් බිමන් යන්නයි තමයි යොදාගත්තෙ. අද ඉතින් ඒවට යාන වාහන තියෙනවනෙ. අශ්වයො, ගවයො ඉතින් අපේ වෙන වෙන වැඩවලට අදටත් යොදා ගන්නවනෙ.

**ශ්‍රාවක** : අද අපි ප්‍රවාහනයට යොදාගන්න ජාති ධර්ම වෙන්නෙ මෝටර් බයිසිකල්, ත්‍රිවීලර්, කාර්, බස්, ලොරි ආදිය තමයි.

**දේශක** : බුදු රජාණන් වහන්සේ එදා ඔය උදාහරණවලින් පෙන්වල දීල තියෙන්නෙ, සාමාන්‍යයෙන් අපි සැප වැඩි කරගන්න කියල අයිති කරගන්න උත්සාහ කරන, ඒ වගේම අයිති කරගෙන පරිහරණය කරන භාර්යාව, දූ දරුවො, සේවකයො ආදී පිරිසකුත්, යාන වාහන, විවිධ රන් රිදී ආභරණ ආදී අපේ ධනවත්කම අනුව පරිහරණය කරන විවිධ උපකරණ රාශියකුත් ගැන තමයි. හැබැයි අපි ඒ සියලුම



දේවල් පරිහරණය කරන්නෙ ඒවාට දැඩි ලෙස බැඳිල දැඩි කැමැත්තක් හදාගෙන තවත් අයට ඒවා ලබාගන්න බැරි වෙන්න ආරක්ෂක උපක්‍රමත් යොදාගෙන. නමුත් අපි කොහොම ආරක්ෂා කළත්, ඒ සියල්ලම ඔය ජරා, මරණ, ව්‍යාධි ආදියට ස්වභාවයෙන්ම ගොදුරු වෙන බවත් අපි හැමෝම හොඳින් දන්නවා.

**ශ්‍රාවක** : හොඳට පැහැදිලි වුනා. අපි හැමෝම සැප ලබාගන්න කියල හිතල තමයි ඔය සියලුම දේවල් පරිහරණය කරන්නෙ. හැබයි එහෙම කළත් ඒවාට ජරා, මරණ, ව්‍යාධි ආදී ලෝක ධර්මතාවයන්ට ගොදුරු වෙන්න සිද්ධ වෙන බවත් දන්නවා. ඒත් මට තාම තේරුනේ නෑ, ඒවායින් දුක වැඩි වෙන්නෙ කොහොමද කියල?

**දේශක** : හොඳයි, එහෙනම් හොඳින් කල්පනා කරල බලල මේ ප්‍රශ්නවලට උත්තර දෙන්න. ඔබ ජාති ස්වභාවයට අයිති කෙනෙක්ද?

**ශ්‍රාවක** : ඔව්.

**දේශක** : ඔබ ඉපදුන නිසා නේද ඔබට මේ ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ දෝමනස්සයන්ට මුහුණ දෙන්න වෙන්නෙ?

**ශ්‍රාවක** : ඔව්.

**දේශක** : ඔබ ඒ ජරා ස්වභාවයට අයිති කෙනෙක් නේද?

**ශ්‍රාවක** : ඔව්, මමත් දිරල වයසට යනවා. ඒ විතරක් නෙවෙයි, ව්‍යාධි ස්වභාවය මරණ ස්වභාවය ආදී මේ ලෝක ධර්මතාවයන්ට මටත් යටත් වෙන්න සිද්ධ වෙනවා.

**දේශක** : බොහොම හොඳයි. ඔබ බොහොම ප්‍රඥාවන්තයි. දැන් ඒ කියපු ආකාරයට ලෝක ස්වභාවයට ගොදුරු වුනාම ඔබට දැනෙන්නෙ දුකක්ද සැපක්ද?

**ශ්‍රාවක** : ඕක ඕන කෙනෙක් දන්නවනෙ. දුකක්ම තමයි.

**දේශක** : ඔබේ භාර්යාව ඔය කියන සියලු ස්වභාවයන්ට යටත් වෙන කෙනෙක් නේද?

**ශ්‍රාවක** : ඔව් එයාටත් මේ සියල්ලටම කවදහරි යටත් වෙන්න සිද්ධ වෙනව කියල හොඳින් දන්නවා.

**දේශක** : ඔබේ භාර්යාවට ඔය තත්ත්වය ඇති වුනාම ඔබට දැනෙන්නෙ දුකක්ද සැපක්ද?

**ශ්‍රාවක** : අපොයි හරිම දුකක් තමයි දැනෙන්නෙ. එයා අසනීප වුනාම අපිට හරියට කෑම ටිකක්වත් ලැබෙන්නෙ නෑනෙ.

**දේශක** : අපි දැන් විස්තර කරල දැන ගත්තා ජාති, ජරා, ව්‍යාධි ආදී ස්වභාවය නිසා කොහොමටත් මම කියන කෙනා දුක් විඳින්න නියමිත වෙලා ඉන්න කෙනෙක් බව. ඒ වගේම ස්වභාවයක් සහිතව ඉපදෙන

තවත් කෙනෙක්ව, සැප විඳින්න කියල හිතල ඔබේ භාර්යාව කරගත්තට පස්සෙ, දැන් ඔබ ඔබට විඳින්න තියෙන දුක් කන්ද අඩු කරගත්තද වැඩි කරගත්තද? හොඳට කල්පනා කරල බලල උත්තර දෙන්න.

**ශ්‍රාවක :** වැඩිවෙනව නේන්නම්. ඒ වුනාට මම එයාව විවාහ කරගත්තෙ මගේ ජීවිතය සතුටින් ගත කරන්න හිතාගෙනනෙ.

**දේශක :** ඔබ දැන් වැඩි කරගත්තෙ දුකද සතුටද?

**ශ්‍රාවක :** අයියෝ මට දනුයි තේරුනේ, මම දැන් මොකද කරන්නෙ?

**දේශක :** හා හා කලබල වෙන්න එපා. එදා ඔබ මේ ශ්‍රී සද්ධර්මය තේරුම් නොගත්තට, දැන් ඔබට මේ ධර්මය අහල ප්‍රඥාව ලැබිල තියෙන්නෙ. මේ ධර්මය වැරදියට වටහා ගත්තොත්, හරියට සර්පයෙක්ගෙ වලිගෙන් අල්ල ගත්ත වගේ වැඩක් වෙන්නෙ කියලත් ඔබ හොඳින් දන්නවා. ඔය භාර්යාවගෙත් දරුවන්ගෙත් සියලු යුතුකම් මැනවින් ඉෂ්ට කරල දීල, මේ සසර දුකින් මිදෙන්න පුළුවන් ක්‍රමයක් තමයි බුදු රජාණන් වහන්සේ අපට කියල දීල තියෙන්නෙ.

**ශ්‍රාවක :** එතකොට ඔය රන් රිදී මුතු මැණික් වගේ අපේ අනෙක් ආදායම් මාර්ග ගැනත් ඔය ආකාරයටමද හිතන්න තියෙන්නෙ?

**දේශක :** මම ඒකත් පැහැදිලි කරල දෙන්නම්. විවාහ වුනාට පස්සෙ අපි කවුරුත් බලාගෙන ඉන්නෙ දරු සම්පත ගැන තමයි. දරුවො ලබාගන්න ඒ අය විඳින දුක් කන්දරාව ඔබ දැකලත් ඇති.

**ශ්‍රාවක :** අපොයි ඔව්. අපේ අක්කට දරුවො නැතිව එයා දරුවො ලබාගන්න කරපු දේවල්, විඳපු දුක මම දන්නවනෙ.

**දේශක :** ඒ වගේ තමයි කවුරු කවුරුත් වාහන ගන්න, ගෙවල් හදන්න මහ දුකක් විඳිනවා. නමුත් අපි හැමෝම කරන්නෙ මේ ලෝකෙ සැප විඳින්න කියල හිතල ඔය වගේ පිරිසක් තමන්ට ළං කරගන්න උත්සාහ කරන එක. ඒ වගේම තමයි, අපිට පරිහරණයට අවශ්‍ය භාණ්ඩ තමන්ටම කියල අයිති කරගන්න වෙහෙසෙන්නෙ. ඒ හැමෝම හිතන්නෙ ඒවා අයිති කරගත් ප්‍රමාණය වැඩි කරගන්නකොට සැපත් වැඩි වෙනව කියල.

නමුත් බුදු රජාණන් වහන්සේ මේ සත්‍යය මතු කරල පෙන්වල දෙන කල් මේ හැම ජාතියකටම උරුම, තමන්ගෙ කැමැත්තට යටත් නොවන ස්වභාවය නිසා තමන්ට දුක් විඳින්න සිද්ධ වෙන බව දන්නෙ නෑ.

**ශ්‍රාවක :** දැන් බලනකොට අපි සැප විඳින්න කියල ළං කරගෙන තියෙන්නෙ මහ දුක් කන්දක්නෙ!

**දේශක :** බොහොම හොඳයි. ඔහොම තේරුම් ගන්නෙ ප්‍රඥාවන්තයින් විතරයි. හැබැයි කවුරුවත් මේ ධර්මය වැරදියට වටහාගන්න එපා. මෙතැනින් කියවෙන්නෙ නෑ, විවාහ වෙන්න එපා කියල, දරුවන් හදන්න එපා කියල, යාන වාහන ගන්න එපා කියල.

**ශ්‍රාවක :** ඔය විදිහට හිතනව නම් ඉතින් ඒ අයට කියන්න වෙන්නෙ අර සර්පයා වලිගයෙන් අල්ල ගත්ත කෙනාට වෙච්ච දේ ගැන තමයි.

**දේශක :** හරියට හරි. මේ ධර්මය දේශනා කළේ ඔබ අපි වගේ මේ ලෝකයේ ජීවත් වෙන සියලුම මිනිස්සුන්ට. හැබැයි බුදු රජාණන් වහන්සේ ඉතා පැහැදිලිව දේශනා කරල තියෙනවා, මේ දහම ප්‍රඥාවන්තයින්ට විතරයි කියල. අපි මේ සාකච්ඡාව පටන් ගත්තෙත් ඒ දේශනාව විස්තර කරල දීල. (හෙළ බොදු පියුම 59 කලාපය)

**ශ්‍රාවක :** අද අපේ සමාජයේ ජීවත් වෙන අති මහත් බහුතරයක් දෙනා දරු මල්ලො හදාගෙන විවිධ ව්‍යාපාර රැකී රක්ෂා කරමින් තමයි ඉන්නෙ. අපි මේ තත්ත්වය දැනගත්තට පස්සෙ ප්‍රඥාවන්තව ඉදිරි කටයුතු කරන්නෙ කොහොමද කියලත් කියල දෙන්න.

**දේශක :** බොහොම හොඳයි. ඒක තමයි ඔබ අද අහපු වැදගත්ම ප්‍රශ්නය. අපි මේ සාකච්ඡාවෙදි විජානාති වෙලා කටයුතු කරන එකයි පජානාති වෙලා කටයුතු කරන එකයි කතා කළා. මේකෙන් ගැලවෙන්න පුළුවන් වෙන්නෙ පජානාති වෙලා කටයුතු කළොත් විතරයි. මම කියන්නෙ නෑ හැම තිස්සෙම එහෙම කරන්න කියල. නමුත් තමන්ට පුළුවන් වෙලාවට හරි පජානාති වෙලා කටයුතු කළොත් ඒකෙන් කාටත් යහපතක්ම තමයි වෙන්නෙ.

**ශ්‍රාවක :** ඒක නම් සහතික ඇත්ත. දැන් ඒක මම අත්දැකීමෙන්ම දන්නවා. මේ ලෝකෙ ඇලෙන හෝ ගැටෙන හෝ අවස්ථාවන් හඳුනගෙන එතන විඤ්ඤාණ මායාවට අහුවෙන්නෙ නැතිව පජානාති වෙලා කටයුතු කළොත් ලොකු සහනයක් අත්විඳින්න පුළුවන් වෙනවා.

**දේශක :** බොහොම හොඳයි. ඔය විදිහට විවාහ වෙලා දරුමල්ලො හදාගෙන යාන වාහන අරගෙන තවත් නොයෙක් දේවල් කරගෙන යන මේ වැඩපිළිවෙලට තමයි ලෝකය ඇසුරු කරනව කියල කියන්නෙ. මිනිස්සුන්ට ගෝචර වන අරමුණු ලෝකය ඇසුරු කරල අරගෙන, ඒ ඒ අවස්ථාවලදි සාමාන්‍ය මිනිස්සු විජානාති වෙන නිසා තමයි ඇලෙන්න හෝ ගැටෙන්න හෝ සිද්ධ වෙන්නෙ. හැබැයි පුළුවන් තරම් පජානාති වෙලා ලෝකය ඇසුරු කරන්න උත්සාහ කරන අය දන්නවා, අපේ ඉන්ද්‍රියන්ට අරමුණු විදිහට එන රූපවල ගන්න කිසිම හරයක් නැති බව, ඇලෙන්න ගැටෙන්න කිසිම දෙයක් ඒ රූප අරමුණුවල නැති බව, ඒ වගේම ඒ ඇලීම හෝ ගැටීම හෝ ඇති කරගන්නෙ තමන්ම විඤ්ඤාණ මායාවට අහුවෙලා බව, එහෙම අහුවුනේ මේ යම් යම් දේවල්වලට තමන්ගෙ තියෙන කැමැත්ත තවමත් තියෙන නිසා බව. ඒ අවබෝධය නිසාවෙන්ම මේ සද්ධර්මය අහල පජානාති වෙලා කටයුතු කරන්න උත්සාහ කරන ආර්ය ශ්‍රාවකයින් ඒ අවස්ථාවෙදිම හෝ පසු අවස්ථාවකදි හෝ තමන්ම ඇලුනු ගැටුනු ස්වභාවයෙන් තමන්ගෙ සිත මුදවා ගැනීමට අවශ්‍ය පියවර ගන්නවා.

**ශ්‍රාවක :** ඔය විදිහට ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ මිදෙන ක්‍රමයට නේද ඉන්ද්‍රිය භාවනා කරනව කියලත් කියන්නෙ?

**දේශක :** ඔව්, බුදු රජාණන් වහන්සේ පෙන්වල දීල තියෙන ඉන්ද්‍රිය භාවනා සූත්‍රයේ විස්තර වෙන්නෙ මේ විදිහට තමයි. (මජ්ජිම නිකාය 3 - 617 පිටුව) මේ ආකාරයට ඒ අය දන්නවා, ඔවුන් ඇලෙන්නෙ ඔවුන්ම විඤ්ඤාණ මායාවට අහුවෙලා හොඳයි කියල ගත්ත ඒවත් එක්ක කියල. ඒ වගේම

ඔවුන් ගැටෙන්නෙ ඔවුන්ම විඤ්ඤාණ මායාවට අහුවෙලා නරකයි කියල ගත්ත ඒවත් එක්ක කියල. ඒ නිසා ඒ හැමෝටම පුළුවන් වෙනවා, දැනටමත් සැප විඳින්න කියල ළං කරගත් සියලුම ජාතිවලින් දුකක් හෝ සැපක් දැනුනම ඉන්ද්‍රිය භාවනාව කරල උපේක්ෂාවෙන් ඉඳල තමන්ට එල්ල වෙන්න පුළුවන් හානිය අවම කරගෙන මේ සසරෙන් මිදෙන මාවතේ දිගටම ඉදිරියට යන්න. ඒ වගේම මේ ළං කරගත් සියලුම දේවල්වලින් එල්ල වෙන්න පුළුවන් බාධා පජානාති වෙලා මග ඇරගෙන, ඒවා නිසි ලෙස පරිහරණය කරමින් සුවදායක ජීවිතයක් ගත කරන්නත් පුළුවන් වෙනවා.

**ශ්‍රාවක :** මෙච්චර පැහැදිලිව ඉන්න ක්‍රමයක් ධර්මයේ විස්තර කරල දීල තියෙද්දිත්, ඇයි මේ අපේ අය මේක වැරදියට අල්ල ගන්න හදන්නෙ?

**දේශක :** ඒකට හේතුව තවමත් දහම් දැකීමට අවශ්‍ය ප්‍රඥාව නැතිකම වෙන්නත් පුළුවන්. තවමත් කල්‍යාණ මිත්‍ර සේවනයෙන් ශ්‍රී සද්ධර්මය නොලැබීම වෙන්නත් පුළුවන්.

**ශ්‍රාවක :** එහෙනම් ඒ හැමෝම අපේ ධර්ම සාකච්ඡාවට සම්බන්ධ වුනා නම්, ඒකට මොකක්ද හේතුව කියල ඒ අයටම තේරුම් ගන්න පුළුවන් වේවි.

**දේශක :** ධර්මය හරියට වටහගත්ත අයටත්, වැරදියට වටහගත්ත අයටත් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වුනොත් යහපතක්මයි වෙන්නෙ. මොකද අපි සාකච්ඡා කරන්නෙ ත්‍රිපිටක පොත් වහන්සේලාගේ අන්තර්ගත දහම් කරුණු විතරමයි. තවත් වැදගත් කාරණයක් තියෙනවා මතක් කරල දෙන්න. මේ ලෝකය සමග කටයුතු කරන කොට අපිට ඇලෙන ගැටෙන අවස්ථාවක් ආවම, ඒක ඒ අවස්ථාවෙම හෝ පසුව හරි අඳුනගන්න පුළුවන් වෙන්නෙ, මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල මේ ලෝකෙ අසාරත්වය අවබෝධ කරගෙන, යථා ස්වභාවය වන අනිච්ච දුක්ඛ අනත්ත බව මෙනෙහි කරල කටයුතු කරන්න පුළුවන් ආර්ය ශ්‍රාවකයින්ට විතරයි. අනිත් අය හැමෝටම වෙන්නෙ ඇලි ඇලී හෝ ගැටි ගැටී හෝ මේ ලෝකෙ ඉඳල කවද හරි අපාගත වෙන්න තමයි.

**ශ්‍රාවක :** අද සාකච්ඡාවෙදි මම වරද්දගෙන හිටපු තැනක් දැනගත්තා. හැබැයි ඒක නම් කිසිසේත් සුළු කොට හිතන්න පුළුවන් එකක් නෙවෙයි. මොකද මම මෙච්චර කල් සැප වැඩි කරගන්න කියල හිතල නොදන්නකමට කරගෙන තියෙන්නෙම දුක වැඩි වෙන දේවල්. අද ඒ දේවල් මටම තේරුම් ගන්න පුළුවන් වුනා. ඒ විතරක් නෙවෙයි, දැනට මම එක් රැස් කරගෙන තියෙන දේවල් පජානාති විදිහට පරිහරණය කරල, මගේ ආර්ය මාර්ගය වඩාගන්න පුළුවන් බවත් දැනගත්තා. ඒ නිසා බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන විදිහට මටත් පුළුවන් දැන් ආර්ය පර්යේෂණය කරන්න.

**දේශක :** බොහොම හොඳයි. දැනට අපි හැමෝම සැපක් ලබාගන්න කියල කර කර ඉන්න අනාර්ය පර්යේෂණය ගැන හොඳින් හොයල බලල තේරුම් අරගෙන, එහි ආදීනවත් දැකල අවබෝධ කරගෙන තමන්ට සිද්ධ වෙන විනාසය වලක්වා ගන්න උත්සාහ කරන එක තමයි ආර්ය පර්යේෂණය වෙන්නෙ. අනිවාර්යෙන්ම ඔබට ඒ පර්යේෂණය කරන්න පුළුවන් බව මට හොඳටම විශ්වාසයි. අපි ආයෙත් දවසක මේ විදිහට ශ්‍රී සද්ධර්මය ගැන කථා කරමු. ඔබට තෙරුවන් සරණයි.

**සටහන**

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව..... ❹





ප්‍රසුගිය කලාපයෙන් විස්තර කළේ ඕරා කැමරාව (aura cam) සහ ඒ කැමරාව මගින් තමන්ගෙ රැස් මඬල හසු කර ගැනීමත්, රැස් මඬලේ තියෙන දෝස සඳහා මැණික් වගේ ගල් වර්ග පැළඳීමේ විද්‍යාත්මක බවත්, අභිඥාලාභීන්ගේ ශක්තිය සහ ඒ ශක්තිය නවීන විද්‍යාව තුලින් එක්තරා මට්ටමකට හසු කරගෙන තියෙන ආකාරයත් ගැන. මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ, භෞතිකවාදීන් මේ නව තාක්ෂණය මහ ඉහළින් පිළිඅරගෙන පැරණි සාස්ත්‍රවලට මිත්‍යා මත කියල ගැරහීම ගැන තවත් පැතිකඩකින් විග්‍රහ කරන්න.

මුලින්ම බලමු, මේ නවීන විද්‍යාවේ සමහර පැතිකඩවල් ඔය තරම් මහ ඉහළින් පිළිගන්න වටිනවද නැත්ද කියන කාරණය. උදාහරණ විදිහට ඔබ රූපවාහිනිය නරඹන කොට, පත්තර කියවන කොට සබන්, දත් බෙහෙත්, විස බීජ නාශක වගේ පාරිභෝගික භාණ්ඩවල වෙළඳ දැන්වීම් ඔබට අනේක වාරයක් දැක බලාගන්න ලැබිල ඇති. ඒ හැම එකකම කියන්නෙ 100% ක් හෝ 99% ක් විස බීජ විනාස කරන ගුණය ඒ වෙළඳ භාණ්ඩ සතුව තියෙන බව. නමුත් ඔවුන් තව දෙයක් කියනවා. ඒ තමයි, පරිසරයේ ක්‍රමයෙන් විස බීජවල වැඩිවීමක් තියෙන බවත්, නවීන තාක්ෂණය උපයෝගී කරගෙන ඔවුන් ඊට විසඳුමක් සොයාගෙන ඒවාටත් ඔරොත්තු දෙන විදිහට මේ නව වෙළඳ භාණ්ඩ සකසා තියෙන බවත්.

දැන් අපි හිතුවෙ නැති වුනාට, හොඳට මොළේ කල්පනා කරල බැලුවොත් අපිට දකින්න පුළුවන්, ඔය කියන වෙළඳ භාණ්ඩ රටේ ලෝකයේ බහුතරයක් දෙනා අවුරුදු 30 - 40 ක් තිස්සේ භාවිතා කරන බව. ඉතිං ඒවා සතුව 100% ක් හෝ 99% ක් විස බීජ විනාස කරන ගුණය තිබුන නම්, කොහොමද ඔය තරම් විසබීජ වැඩි වෙන්නෙ? නමුත් ඔවුන්ම කියනවා විසබීජ වැඩි වෙලා කියල. දැන් ඔවුන් අපට මේ වෙළඳ භාණ්ඩ විකුණන්න ගෙන එන තර්කය ඇතුලෙ යම් දෝසයක් තියෙන බව පේනවා. මොකද ඔවුන්ගෙ වෙළඳ භාණ්ඩ අවුරුදු 30 - 40 ක් තිස්සේ භාවිතා කරලත් කිසිම අඩුවක් නැතුව තව තවත් විස බීජ වර්ග බිහි වෙලා තියෙනවා. ඉතිං මේවට තමයි වෙළඳ උපක්‍රම කියන්නෙ. ඔවුන් ඇත්තටම විස බීජ විනාස කරන කාරකවලින් ඒවා සැකසුවා නම්, මේ වෙනකොට විස බීජ අඩු වෙන්න එපැයි, ලෙඩ රෝග අඩු වෙන්න එපැයි.

දැන් මේ කාරණාව සනාථ කරන්න හොඳ උදාහරණයක් තියෙනවා. අපේ රටේ වගේම ලෝකයේ ගොඩක් දෙනෙක් භාවිතා කරන, අවුරුදු 60 ක් විතර පැරණි බහු ජාතික සමාගමක් මගින් වෙළඳපලට සපයන දන්තාලේප වර්ගයක් තියෙනවා. ඔවුන් කියන්නෙ ඒ දන්තාලේපය 60 වසරක විස්වාසය දිනූ, ලොව පුරා වැඩිම ජනතාවක් භාවිතා කරන නිෂ්පාදනයක් කියල. නමුත් මේ දන්තාලේපයේම වෙළඳ දැන්වීමක කියනවා, අපේ රටේ 60% ක් පමණ දන්ත රෝගවලින් පෙලෙනවා, හැම කෙනෙක්ගෙම දත් 4 ක් පමණ නරක් වෙලා කියල. ඒ වගේම ඒකට විසඳුමක් විදිහට මේ දන්තාලේපය භාවිතා කරන්න කියලත් කියනවා. මොන තරම් ලැජ්ජ නැති කතාවක්ද ඔවුන් මේ කියන්නෙ. අවුරුදු 60 ක් තිස්සෙ මිනිස්සු ඒ දන්තාලේපය භාවිතා කරල ප්‍රයෝජනයක් වුනේ නැති බව ඔවුන්ම කියනවා. ඒකට විසඳුමක් විදිහට නැවතත් ඒ දන්තාලේපය භාවිතා කරන්නලු. ඉතිං ඔය දන්තාලේප නවීන විද්‍යාගාරවල පර්යේෂණ කරලලු හදන්නෙ. කොච්චර නවීන විද්‍යාව භාවිතා කළත් ප්‍රතිඵල නම් නෑ. ඔන්න ඕකයි භෞතිකවාදී පිරිස් සහ හේතුවාදී පිරිස් හිස් මුදුනින් පිළිගන්න නූතන විද්‍යාවේ සමහර සොයා ගැනීම්වල තරම.

හැබැයි මෙතනදි කෙනෙකුට කියන්න පුළුවන්, නවීන විද්‍යාවටම අනුව ඔය කියන විස බීජ ඒ වෙළඳ භාණ්ඩවලට අනුවර්තනය වෙලා කියල. එහෙම දෙයකුත් වෙන්න පුළුවන්. මොකද ඔවුන් ඒක අනුවර්තනය විදිහට දැක්කත්, බුදු දහමෙ විග්‍රහ කරන්නෙ, පොදුවේ මනුස්සයින්ගෙ රාග ද්වේශ මෝහ බලවත් වීම නිසා කාලයත් සමග ක්‍රමයෙන් ලෙඩ රෝග වැඩි වෙනව කියල. ඒ නිසා තමයි ක්‍රමයෙන් මනුස්සයින්ගෙ ආයුස අඩු වෙන්නෙ. මේ බව බුදු දහමේ සවිස්තරාත්මකව විස්තර කරල තියෙනවා. ඒ අතර මනුස්සයින්ගෙ නොසන්සිඳෙන ආසාවන් පිනවීමට දරන වෙහෙස මහන්සිය සහ බලවත් උත්සාහය වැඩි වීමත් සමගම ශරීරයේ සෛලවල ක්‍රියාකාරීත්වය ක්‍රමයෙන් ඉහළ යනවා. ඉතිං බොහෝ කාලයක් වැඩ ගන්න තිබුණු සෛල ඉතා වේගයෙන්, අති ධාවනයෙන් යුතුව ක්‍රියාත්මක වීම නිසා වේගයෙන් විනාස වෙනවා. ඒ නිසා තමයි අවුරුදු අසංඛ්‍යයක් ආයුස තිබ්ච්ච මනුස්සයගෙ ආයු අපේක්ෂාව අද වෙනකොට අවුරුදු 60 - 70 ට විතර අඩු වෙලා තියෙන්නෙ. ඒ අතර වෛරය වැඩියෙන් ඇසුරු කිරීම නිසා වෛරස් ගණයේ විස බීජ ඇති වෙනවා. මේ විස්තර මේ සඟරාවෙ පෙර කලාපවල පළ කරල තියෙන නිසා නැවතත් විස්තර කරන්න අවශ්‍ය නෑ. (කලාප අංක 15, 16 බලන්න.) ☞

දැන් නැවතත් පෙර විග්‍රහයට යොමු වුනොත් අපට පේන්නෙ, විස බීජ මේ වෙළඳ භාණ්ඩවලට අනුවර්තනය වෙලා තියෙනව කියල. ඉතිං ඔය කතාව ඇත්තද කියල බලන්න අපි පොඩි පරීක්ෂණයක් කරල බලමු. අපි හැමෝම දන්නවා, කාලයක් යද්දි දත් මදින දත් බුරුසුව නහය ළඟට ළං කරන්න බැරි තරමට දුගඳයි කියල. බුරුසුවට පොඩ්ඩක් ළං වෙලා බැලුවොත් ඒ කෙඳි අතරින් යටට වෙන්න ඉතා දුගඳ හමන මැලියම් තට්ටුවක් තියෙනව දැක බලාගන්න පුළුවන්. දන්තාලේප විස බීජ විනාස කරන්න දක්ෂ වුනා නම්, කටේ කෙසේ වෙතත් අඩුම තරමෙ දත් බුරුසුවේවත් විස බීජ විනාස කරන්න දක්ෂ වෙන්න එපැයි. ඒකෙන් අපට පේන්නෙ මේ දන්තාලේප, කටේ තියා දත් බුරුසුවේවත් විස බීජ විනාස කරන්න දක්ෂ නෑ කියල. ඉතිං රටේ 60% ක් පමණ දන්ත රෝගවලින් පෙළීම, හැම පුද්ගලයෙක්ගෙම දත් 4 ක් පමණ නරක් වීම කියන කාරණා අහන්නත් දෙයක්ද?

මෙහෙම කියන්නෙ හේතු සාධක ඇතිව. මොකද අපේ පැරැන්නො දත් මදින්න ගත්තෙ අඟුරු, බෝඹු කෝටු, මූනමල් පොතු, ලුණු, කරාබු නැටි, කුරුඳු, අරළු වගේ ස්වභාවික ද්‍රව්‍ය. ඒවායින් ඔවුන්ගෙ දත් ශක්තිමත් වුනාට අමතරව ජීවිතය පවතින තුරා කිසිම රෝගයකින් තොරව දත් පැවතුනා. අදත් දත් කැක්කුමක් හැදුනම උණු වතුර මිශ්‍ර ලුණු වතුරින් කට හෝදල කරාබු නැට්ටක් කටේ තියාගන්න කියල කියනවා. අදත් ගම්වල ජීවත් වෙන අපේ සමහර වැඩිහිටියො ඔය කෘතීම දත් බුරුසු, දත් බෙහෙත් පාවිච්චි නොකර බෝඹු ලී කෑල්ලකින් දත් මැදල දුගඳ හමන්නෙත් නැතිව හරි අපූරුවට දත් ටික රැකගෙන ඉන්නවා. ඒ අයට කිසිම මුඛ රෝගයක් නෑ.

නමුත් සමාජයට දීල තියෙන මතය තමයි, අඟුරු වගේ දේවල්වලින් දත් මැද්දම එනමලය හීරිලා දත් දිරනව කියල. එතකොට කෘතීම කෙඳි සහිත දත් බුරුසුවලින් දත් මැද්දම එනමලය හීරෙන්නෙ නැත්ද? එදා පැරැන්නො අඟුරුවලින් දත් මැදල එනමලය හූරගෙන දත් ටික නැති කරගත්තද? කන්න ඕන වුනාම කබරගොයත් තලගොයා වෙනව කියන්නෙ ඕකට තමයි.

ඔබත් නිකමට දින කිහිපයක්, අර මැලියම් බැඳුණු දත් බුරුසුවෙන්ම දන්තාලේප පාවිච්චි නොකර අඟුරු විතරක් භාවිතා කරල දත් මැදල බලන්න, දත්වලටයි ඔය දත් බුරුසුවටයි මොකද වෙන්නෙ කියල. එතකොට අර මැලියම් තට්ටුව පේන්නවත් නැතිව දත් බුරුසුව නැවත පෙර තිබ්බ තත්ත්වයටම පත්වෙනවා. ඕක තමයි අපේ පැරැන්නන් භාවිතා කරපු ස්වභාවික අමු ද්‍රව්‍යවල බලය. ඒවා එදාට විතරක් නෙවෙයි අදටත් ගැලපෙනවා. කිසිම හානියකුත් නෑ, ස්වභාවිකයි, විස රසායන මොකුත් නෑ.

ඉතිං අද බොහෝ දෙනා මේකට තමයි නවීන විද්‍යාව කියල මුලා වෙලා, පැරැන්නන්ගෙ මත මිත්‍යා මත, හණමිටි අදහස් කියල බැහැර කරන්නෙ. හැබැයි මේවා දැන් නවීන විද්‍යාවෙන්ම කරන සොයා ගැනීම්. මේවා ප්‍රතික්ෂේප කරන්නෙ, පැරැන්නන් ඒවා සොයා ගත්තෙ බටහිර රටවල පරීක්ෂණාගාරවල පරීක්ෂණ කරල නොවන නිසා වෙන්න ඇති. නමුත් එහෙම ප්‍රතික්ෂේප කිරීමෙන් අපිට සිද්ධ වෙලා තියෙන්නෙ ලෙඩ රෝග වැඩි වීමත්, ඒ ලෙඩ රෝග හොඳ කරගන්න ඉතා විසාල වශයෙන් මුදල් වියදම් කරන්න සිද්ධ වීම නිසා ඒ සඳහා විසාල වශයෙන් මුදල් සොයන්න යෑමෙන් දස අකුසලය කරන්න සිද්ධ වීමත්, අන්තිමට අනන්ත සංසාරයේ මහා දුක් කම්කටොලු රාශියකට මුහුණ දෙන්න සිද්ධ වීමත් විතරයි. නමුත් භෞතිකවාදීන් / හේතුවාදීන් කියන සමහර පිරිස් පෙර අත්බැව් හෝ මරණින් පසු අත්බැව් තියෙන බව පිළිනොගන්න නිසා ඔවුන්ට ඒක ඒ මොහොතට ගැටළුවක් නොවෙන්න පුළුවන්. හැබැයි මළාට පස්සෙ නැවත ඉපදෙනකොට තමයි ඒක ගැටළුවක් වෙන්නෙ.

ලෙඩ රෝග වැඩි වෙනව කියන්නෙ ඒවා සුව කරගන්න මුදල් සහ කාලයත් වැඩියෙන් වැය කරන්න සිද්ධ වෙනව කියන එක. එදා කාලය රන් හා සමානයි කිව්වට අද කාලය සමාන වෙන්නෙ මුදල්වලට. අද වෙනකොට ලෝකයේ වැඩිපුරම ක්‍රියාත්මක වෙන්නෙ සාධාරණයට වඩා අසාධාරණය. ඒ කියන්නෙ මුදල් හොයන්න සිද්ධ වෙලා තියෙන්නෙ අසාධාරණ විදිහට.

දැන් කෙනෙක් කියන්න පුළුවන්, අපි මුදල් හොයන්නෙ සාධාරණව කියල. නමුත් හොඳට හිතල බලන්න, ඔබ වෙළඳ භාණ්ඩ නිපදවන හෝ සේවා සපයන ආයතනයක සේවය කරනව නම් ඔබට ඒවා විකිණීමට, ප්‍රචාරණය කිරීමට සිද්ධ වෙනවා. ඒ කියන්නෙ ලෝක සම්මතයේ බොරු ප්‍රලාප කියන්නත් සිද්ධ වෙනවා. තනතුර ඉහළ දාගන්න කේලම් කියන්න සිද්ධ වෙනවා. ඔබ කේලම් නොකිව්වත් ඔබ ගැන කේලම් කියන අය ගැන ඔබට වෛරයක් ඇති වෙනවා. සමහර අවස්ථාවලදි ගහ මරාගන්න තැනට පත් වෙනවා. ඉතින් මේ සියල්ල කරන්න සිද්ධ වෙන්නෙ අසීමාන්තික විදිහට මුදල් සොයන්න යෑමෙන්. ඒ විදිහට මුදල් සොයන්න ප්‍රධාන හේතුව විදිහට බලපාල තියෙන්නෙ මනුස්සයා තුළ පවතින ආසාවන් වැඩිවීම. ඉතින් ඔබත් ආස කරන්නෙ මොකකටද කියල යම් තරමකට සොයා බැලුවොත් හොඳයි.

උදාහරණ විදිහට ඔබ අලුතින් වෙළෙඳපොළට පැමිණි මෝටර් රථයක් මිලදී ගන්න ආස කරනව නම්, ඔබ ආස කරන්නෙ මෝටර් රථයේ එන්ජිමටද, නැත්නම් එන්ජිම සහ අසුන් වගේ දේවල් කැතට පේනවට ඒවා වට කරල තියෙන පිට ඇසුරුමටද? ආහාරයකට ආස කළත් ඔය ටිකමයි සිද්ධ වෙන්නෙ. මොකද අද හුඟක් අය ආහාර ගන්නෙ ගුණය බලල නෙවෙයි පිට ඔපය බලල. පිට ඔපයට අහු වෙච්ච පමණින් අපි ලෙඩ රෝගවලට ලක් වෙනවා. උදාහරණ විදිහට අද බොහෝ දෙනෙක් කුරක්කන් තලප වගේ දේවල් ආහාරයට ගන්න කැමති නෑ. මොකද ඒවායේ බාහිර පෙනුමකුත් නෑ ප්‍රිය මනාප රසයකුත් නෑ. පාටයි ලස්සනයි තියේ නම් මොනව වුනත් කමක් නෑ ඒක කනව බොනවා.

ඉතින් නවීන විද්‍යාව කියල ඔවුන්ගෙ පසුම්බිය තර කරගන්න අපේ හිතේ තියෙන ආසාව කියන කුණු භාවිතා කරල ලස්සන පාට සුවඳ එකතු කරල, ලස්සනට හැඩවැඩ දාල සකස් කරල වෙළඳපොළට දැම්මම අපි ඒකට රැවටිලා ඒවා භාවිතා කරල ලෙඩ වෙනවා. ඒවා හොයන්නෙ බලන්නෙ නැතිව මිලදී ගෙන මෙලොව වශයෙන්ම දුක්ඛිත තත්ත්වයට පත්වෙනවා. නමුත් මේ දහම දැනගෙන හිටපු අපේ පැරැන්නන් පෙර කාලයේ පටන් වත්තෙ පිටියෙ ස්වභාවිකව හැදෙන දේවල් භාවිතා කරල ආසාවන් අඩු කරගෙන ලෙඩ රෝගත් අඩු කරගෙන මෙලොව වගේම පරලොවත් සුගතිගාමී තැනකට පත් කර ගත්තා. ඒ අය ආහාරයේ පාට ගැන

බැලුවෙ නෑ, ලස්සන බැලුවෙ නෑ, සුවඳ ගැන බැලුවෙ නෑ. ගුණය ගැන විතරයි බැලුවෙ. අනික මේ තරම් ආසාවන් තිබුනෙත් නෑ.

මේ නවීන තාක්ෂණයේ දියුණුවත් එක්ක තමයි මනුස්සයින්ගෙ ආසාවන් ඉතා සීඝ්‍රයෙන් වැඩි වෙලා තියෙන්නෙ. ඒක සිද්ධ වෙන්නෙ ලෝකයේ කාර්මික විප්ලවය පටන් ගැනීමත් එක්ක. එතැන් පටන් මානවයා අනිත් ලෝක සත්වයන් පරයා දියුණු වුනා කියල කියන්න පටන් ගත්තා. නමුත් විමසිල්ලෙන් බැලුවොත් පේනවා, ඇත්තටම මනුස්සයා දියුණු වෙලාද, නැත්නම් තාක්ෂණය දියුණු වීමත් සමග ඇස්පනාපිටම ලෙඩ රෝග වැඩි කරගෙන දස අකුසලයට ප්‍රිය කරන සත්වයෙක් වෙලා දුගතිගාමී වෙන්න මාර්ගය සකස් කරගෙන තියෙනවද කියල.

මේවා සඳහන් කරන්නෙ තාක්ෂණයත් එක්ක තියෙන තරහකට නෙවෙයි. තාක්ෂණයෙන් අපිත් ප්‍රයෝජන ගන්නවා. නමුත් තාක්ෂණයට මුලා වෙලා තමන්ටම වළ කපාගන්න- කොට ඊට විසඳුමක් දීමේ අදහසින් තමයි මේවා ඉදිරිපත් කරන්නෙ.

අඟුරු කියන්නෙ විද්‍යාවට අනුව කාබන් නැතහොත් ක්‍රියාකාරී කාබන් (activated carbon). ඉස්සර හිටපු මිනිස්සු ළිඳක් කපල, එහෙම නැත්නම් ළිඳක් සුද්ධ පවිත්‍ර කරල ළිඳට අඟුරු කැල්ලක් දාන සිරිතක් තිබුණා. පැය කිහිපයක් යනකොට ජලයේ තිබිච්ච සියුම් අපද්‍රව්‍ය අර අඟුරු කැල්ලට උරා ගන්නවා. ඊට පස්සෙ අඟුරු කැල්ල ඉවත් කරනවා. දර අඟුරුවල එහෙම විස බීජ නාශක ගුණයක් තියෙන බව එදා පැරැන්නො දැනගෙන හිටියා. නමුත් අද මොකද වෙලා තියෙන්නෙ, ජලය පිරිසිදු කරන්න කියල ක්ලෝරීන් වගේ කෘතීම රසායන යොදල ශරීර සෞඛ්‍යයත් නරක් කරගෙන, ස්වභාවික රසයත් නැති කරගෙන. අඟුරු කැල්ලක් වගේ සුළු දෙයක් අද වෙළඳපොළ වටිනාකමින් අඩු දෙයක් විදිහට බැහැර කිරීමේ ප්‍රතිවිපාක අද වෙන කොට විඳින්න සිද්ධ වෙලා තියෙනවා.

හැබැයි අද නවීන විද්‍යාවෙන්ම අඟුරු පිරිසිදු කාරකයක් විදිහට සොයා ගෙන තියෙනවා. ඒ සොයාගෙන තියෙන්නෙත් බටහිර පර්යේෂණා- ගාරවලදී. ඔවුන් මේ අඟුරු භාවිතා කරන්නෙ මුහුණේ තියෙන අඳුරු ළප, විස බීජ ඉවත් කරල මුහුණ පිරිසිදු කරන්න. ඒකත් ලොව පුරා ප්‍රචලිත රූපලාවන්‍ය නිෂ්පාදන සමාගමක් තමයි හඳුන්වා දීල තියෙන්නෙ. තවත් දන්තාලේප නිෂ්පාදන සමාගම් තමන්ගෙ දන්තාලේප නිෂ්පාදනය කරන්න පොල්කටු අඟුරු භාවිතා කරනවා. නමුත් ඒවායේ වටිනාකම ලංකාවෙ මුදලින් නම් රුපියල් 5000 කටත් වඩා අධිකයි. කොහොම හරි ඔවුන්ටත් අර පැරණි ස්වභාවික දේවල් නැවත යොදාගන්න සිද්ධ වෙලා තියෙනවා.

ඉතින් මෙච්චර විසාල මුදලක් වියදම් කරල පොල්කටු අඟුරු සහිත ඒ දන්තාලේපය මිලදී ගන්නව වෙනුවට, ගෙදර වත්තෙ පිටියෙ තියෙන දර කැල්ලක් පුච්චල අඟුරු ටිකක් හදා ගත්තනම් වියදමකුත් නෑ. රසායනික ද්‍රව්‍ය මිශ්‍ර වීමත් එක්ක එන ලෙඩ රෝග ඇති වෙන්නෙත් නෑ. ඉතින් මෙච්චර වටිනා දේවල්වලට හෑණමිටි අදහස්, මිත්‍යා මත කියල බැහැර කිරීම සුදුසුද?



අනික මේ නවීන විද්‍යාව ඔය කියන විදිහට සර්ව සම්පූර්ණ විද්‍යාවක් නම්, ඉන්ද්‍රකීලයක් වගේ ස්ථිර වෙන්න එපැයි. අද එකක් කියල හෙට එකක් කියන්න බෑ. නමුත් අපේ පැරැණි දේ තවමත් වෙනසක් නැතිව බැබලෙනවා. බටහිර විද්‍යාව කරපින්නාගෙන තමන්ගෙ තියෙන මාන්නක්කාරකමට ඒ කාරණා ප්‍රසිද්ධියේ පිළිගන්නෙ නැති එකයි ගැටළුව.

ඉපැරණි සංස්කෘතිය මොවුන් වනසනව විතරක් නෙවෙයි, මනුස්සයො හිඟන්නො කරල, ලෙඩ කරල, දස අකුසලයට පොළඹවල, මුදල් ඉපයීම තමයි ඔවුන් කරන්නෙ. ඒවා වර්ණනා කරන්නෙත් ඔය කියන සමහර භෞතිකවාදී වෛද්‍යවරුන්මයි. ඔවුන් මේ වෙළඳ භාණ්ඩ අගය කරල, අනුමත කරනව විතරක් නෙවෙයි, පැරණි වටිනාකම්වලටත් පහර ගහනවා.

මේ දේවල් සඳහන් කරන්නෙ දන්තාලේප හෝ විස බීජ නාශක හදන සමාගම් එක්ක හෝ ඒවා අනුමත කරන වෛද්‍යවරු එක්ක හෝ තියෙන තරහකට නෙවෙයි. මේ වගේ අසත්‍ය ප්‍රචාර කරල, පැරණි වටිනා දේවල් විනාස කරන්නෙ නැතුව, කරනව නම් හේතුඵල පෙන්වල හොඳ දෙයක් කරන්න කියන පණිවිඩය දැනුම් දෙන්න.

අනික කරාබු නැටි, කුරුඳු, මූනමල් පොතු... ආදී අමු ද්‍රව්‍ය පවා අද ඔය කියන දන්තාලේප සඳහා භාවිතා කරනවා. ඒවා ඉතා ඉහළ ගුණයෙන් යුක්ත නිසයි ඔවුන් ඒවා භාවිතා කරන්නෙ. හැබැයි ඔවුන් ඒවායේ ඉතා ඉහළ ගුණ තියෙන බව සොයා ගත්තෙ මෑතකදි. ඊට කලින් ඒ අයගෙ දන්තාලේපවලට ඔය වගේ අමුද්‍රව්‍ය පාවිච්චි කළේ නෑ. නමුත් පැරැන්නන් ඒ බව සොයා ගත්තෙ අවුරුදු 5,000 කටත් වඩා පුරාණ කාලයේ. එයින්ම ඔප්පු වෙනවා, අපේ මුතුන් මිත්තන් දත් මැදීම සඳහා භාවිතා කළ ඖෂධීය සත්කාරය නිවැරදි වගේම, දැන් ඉන්න අය ඒවා ඔවුන්ගෙ නිෂ්පාදනවලට එකතු කර ගැනීමෙන් ඒවා අනුමත කරල තියෙන බව. එතකොට මෙච්චර සත්‍යය පෙනි පෙනී තියෙද්දිත් ඇයි පැරැණි දේටම ගරහන්නෙ? අපේ මුතුන් මිත්තො මේවා සොයා ගත්තෙ පර්යේෂණාගාරවල පර්යේෂණ කරල නම් නෙවෙයි, මනස දියුණු කරපු යම් කිසි ශක්තියකින්. මේ එක සත්‍යයක් විතරයි. ඒ කාරණය එහෙම නම් ඔවුන් විවේචනය කරන අනෙක් පැරණි දේවල් සම්බන්ධයෙන් කතාවත් ඕකම තමයි. .....

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 5






වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ ගැන කතා කරනකොට, විශේෂයෙන් ලංකාවෙ මිනිස්සුන්ට දියවැඩියාව, පිළිකාව, අංශභාගය වගේ බෝ නොවන රෝග හැදෙන්න තවත් ප්‍රධාන හේතුවක් වන ආහාරයක් ගැන තමයි මේ හෙළිදරව් කරන්නෙ. ඒ තමයි තිරිඟු පිටි හෙවත් පාන් පිටි. එතනදිත් ප්‍රධාන කාරණා කිහිපයක් තියෙනවා. එකක් තමයි ස්වභාවිකව තියෙන තිරිඟු ඇටවලට විවිධ රසායන වර්ග යොදල නිවුඩ්ඩ ඉවත් කිරීම හා කල් තබා ගැනීම සඳහා තවත් කෘතිම රසායන එකතු කිරීම. ස්වභාවික තිරිඟු පිටිවල තියෙන්නෙ කහ පාටට හුරු පැහැයක්. නමුත් මිනිස්සු සුදු පාටට කැමති දෘෂ්ටියක් හදාගෙන තියෙන නිසා ඒ සඳහා ඉල්ලුමක් පවතින නිසා ඇස රවටන්න සුදු කරනවා. ඒ වගේම ඒ නිවුඩ්ඩ ඉවත් කරල ඒක මෝල්ට් වගේ වෙනත් නිෂ්පාදනවලට යොදා ගන්නත් ඒ ක්‍රමය භාවිතා කරනවා. එතනදි පොටෑසියම් බ්‍රෝමයිඩ් වගේ විවිධ කෘතිම විස රසායන යොදාගෙන තමයි තිරිඟු ඇට සුදු කරන්නෙ.

ඊළඟට බලන්න ඉස්සර ගෙවල්වල පාන් පිටි රාත්තලක් ගෙනාවම දවස් 2 - 3 න් ගුල්ලො ගහනවා. නමුත් අද පාන් පිටි රාත්තලක් ගත්තොත් මාස 5 - 6 ක් ගුල්ලො ගහන්නෙ නැතිව තියාගන්න පුළුවන්. මොකද කල් තියාගන්න ඒ තරම් විස රසායන එකතු කරල. මේ කල් තබා ගැනීමේ කාරක දාන්නෙත් බොහෝ කොටම තිරිඟු ඇටවලට. එතනදි ධූමකරණයට ලක් කිරීමක් තමයි කරන්නෙ. ඒ කියන්නෙ රසායන තියෙන කාමරයක කැරකෙන පටියක් දිගේ තිරිඟු ඇට යවන කොට හැම තිරිඟු ඇටයකටම ඒ විස රසායන කා වදිනවා. එතකොට පාට වෙනස් කරන්නයි, කල් තියාගන්නයි යොදන කෘතිම විස රසායන තිරිඟු පිටිවලත් රැඳෙනවා. ඒවා යොදාගෙන නිපදවන ආහාරවලත් ඒ සාන්ද්‍රණය ඒ විදිහටම තියෙනවා. දැන් ඒවා ආහාරයට ගත්තම අක්මාව, අග්න්‍යාශය, වකුගඩු, කුඩා බඩවැල් ඇතුළු අභ්‍යන්තර ඉන්ද්‍රියන්වල ඒ විස ගිහින් රැඳෙනවා. කාලයක් යද්දි මාරාන්තික ලෙඩ රෝග හැදෙන්න ඒකම හේතුවක් වෙනවා. ඉතිං මේ ඔක්කොම විවෘත ආර්ථිකයත් එක්ක සිද්ධ වෙච්ච දේවල්.

ඒ කාලෙ මෝදර ප්‍රදේශයේ තිබිච්ච පිටි කම්හලේ තමයි ලංකාවෙ පරිභෝජනයට අවශ්‍ය ප්‍රමාණයට තිරිඟු ඇට පිටරටින් ගෙනත් ඇඹරුවෙ. පිට නිවුඩ්ඩත් එක්කමයි ඇඹරුවෙ. එතකොට ලංකාවෙදි ඒකට කිසිම රසායනික සංයුතියක් එකතු කළේ නෑ. පස්සෙ ඉතිං විදෙස් රටවලින් මුලින්ම අපිට ඒව නොමිලෙ ලබාදීල ටික ටික හුරු කළා. හැබැයි ඒ දවස්වල රජය සෘජුව මැදිහත් වෙලා තමයි තිරිඟු ඇට ගෙනාවෙ. නමුත් පසු කාලෙක

..... මේ දේවල් සඳහන් කළේ, ඔබේ දැනුවත්වීමට මිසක් වෙළඳ සමාගම්වලට ගරහන්න හෝ ඒවා භාවිතා කරන්න එපා කියල උපදෙස් දෙන්න හෝ නෙවෙයි, කියන්නා කෙසේ කීවත් අසන්නා සිහි බුද්ධියෙන් යුතුව අහන්න ඕන කියන පැරණි කියමන නැවතත් මතක් කරල දෙන්න. හුදෙක්ම පැරණි දේට ගරහන නිසා, ඒ තුළ තියෙන අගය ඉස්මතු කිරීමට දරන උත්සාහයක් වගේම, දස අකුසලයෙන් තොර සමාජයක් බිහි කිරීමේ අරමුණින් කරන උත්සාහයක් විදිහට තමයි මේ කරුණු කාරණා හෙළි කළේ.

මේ ළඟදි ආදිවාසී නායකතුමා රූපවාහිනී දැනුම මිනුම වැඩසටහනකට ඇවිත් මේ සමාජයට සිද්ධ වෙලා තියෙන විනාසය පිළිබඳව ඔහුගෙ අදහස ඉදිරිපත් කළා. ඔහු කිව්වෙ පාරවල්, විදුලිය, මුදල් කියන කරුණු නිසා දැන් මේ සමාජය විනාස වෙලා කියල. පාරවල් නිසා අපේ සංස්කෘතියට නොගැලපෙන දේවල් ඇවිත් තියෙන බවත්, අපේ වටිනාකම් පැහැරගෙන තියෙන බවත්, විදුලිය නිසා අවශ්‍යතා වැඩි වෙලා තියෙන බවත්, සරල බව ගිලිහුණු බවත් ඔහු පෙන්වා දුන්නා. ඒ වගේම මුදල් නිසා සාමය සමගිය නැතිවෙලා තණ්හාව වැඩිවෙලා එකිනෙකා මරාගන්න තත්ත්වයට පත්වෙලා විවේකය අහිමි වෙලා තියෙන බවත් ඔහු පෙන්වා දුන්නා. ඔහුට තේරෙන විදිහට තමන්ගෙ මට්ටමින් ඔහු ඒ කරුණු පෙන්වා දුන්නා. ඉතිං ආදිවාසී නායකතුමාට තේරෙන දේ දැන් ඉන්න උගත් අයට නොතේරෙන එක තමයි කණගාටුව.

**සටහන**

**විද්‍යාවේදී අමිත් සමරනායක**

**බෙල්ලන්තර**

**077 4256683**

මොකද වුනේ, විවිධ බහු ජාතික සමාගම්වලට තිරිඟු පිටි ඒකාධිකාරයක් හැදුනා. දැන් ඒ සමාගම් විතරයි තිරිඟු ඇට ගෙන්වල අඹරල ඔක්කොම කරන්නෙ. දැන් මොකද කරන්නෙ තිරිඟු පිටි කොටස් 3 - 4 කට අඹරල පළවෙනියට සහ දෙවෙනියට එන හොඳ කොටස් ටික නැවතත් ඒ රටවල්වලටම ගෙනියනවා. ඉතිරි වෙන බාල රොඩ්ඩ තමයි පාන් පිටි කියල අපිට දෙන්නෙ. ඉතිං මේ ඉතිරි වෙන ටිකත් නරක් වුනාම ඒ අයට පාඩු වෙන නිසා විවිධ රසායන එකතු කරල මාස ගණනක් කල් තියාගන්නවා. ගුල්ලො ගහන්නෙත් නෑ. නරක් වෙන්නෙත් නෑ. ඒ විදිහට කොච්චර නම් තිරිඟු පිටි අතිරික්තයක් ගබඩා කරල තියාගන්නවද? නමුත් ඒක විසයි. ශරීරයේ ඇට මිදුළුවලට කා වැදුනම අන්තිමට අග්න්‍යාශයටත් බලපාල ශරීරයට අවශ්‍ය ප්‍රමාණයටත් වඩා ග්ලූකෝස් නිෂ්පාදනය වෙන්න ගන්නවා. එතකොට හරියට වතුර වැඩියෙන් බිව්වම, ආහාර වැඩියෙන් ගත්තම එන ඉස්මුරුත්තාව වගේ. ඒක තමයි දියවැඩියාවට එක හේතුක් වෙන්නෙ.

ඊළඟ කාරණය තමයි මේ තිරිඟු මහා පරිමාණයෙන් වගා කරන බටහිර රටවල් දැන් ඒ සඳහා භාවිතා කරන පහසු උපක්‍රමයක් තියෙනවා. මහා පරිමාණයෙන් වගා කරන නිසා සාමාන්‍ය ක්‍රමයට ස්වභාවික තිරිඟු වගාවෙදි එන වල් පැළ මර්දනය කරන්න ගියොත් විසාල මිනිස් ශ්‍රමයක් යොදාගෙන වැඩි කාලයක්, මහන්සියක්, වියදමක් දරන්න වෙනවා. එහෙම නැත්නම් ස්වභාවිකව හැදෙන තිරිඟු ශාකයක් අනෙක් වල් ගස්වලින් ආරක්ෂා කරන්න පූර්ණ වල් නාශක ඉහින කොට ඒ තිරිඟු ශාකයත් විනාස වෙනවා. ඒ නිසා ප්‍රවේසමෙන් තෝර බේරගෙන තමයි ඒක කරන්න වෙන්නෙ. මොකද පූර්ණ වල් නාශක නැතිව ඊට වඩා සැරෙන් අඩු අතරමැදි වල් නාශක යෙදුවොත් ඒවාටත් ඔරොත්තු දෙන සමහර වල් පැළෑටි ඉතුරු වෙනවා. නමුත් පූර්ණ වල් නාශක යෙදුවම තිරිඟු ශාකයටත් හානි වෙන නිසා ඒක වළක්වන්න ඒ අය දැන් මොකද කරන්නෙ, ජාන වෙනස් කරල විකෘති කරල පූර්ණ වල් නාශකවලටත් ඔරොත්තු දෙන විදිහට තිරිඟු වගා කරනවා. ඊළඟට උඩින් ගිහින් අහස් යාත්‍රාවලින් මුළු වගාවටම පූර්ණ වල් නාශක ඉහිනවා. එතකොට තිරිඟු ගස් හැර අනෙක් සියළුම වල් පැළෑටි විනාස වෙනවා. ඒ ක්‍රමයට වල් මර්දනය කළාම ඒ අයට ඒක හරි පහසුයි, ලාභයි. ඒ පහසුවයි ලාභයයි බලාගෙන තමයි එහෙම කරන්නෙ. නමුත් අන්තිමට මොකද වෙන්නෙ, ඒ වල් නාශක තිරිඟුවලටත් උරාගෙන තිරිඟු ඇට හරහා තිරිඟු පිටිවලටත් එනවා. ඉතිං ස්වභාවික තිරිඟු පිටි කියල කිව්වට ජාන විකෘති කරල විස කැව්ච්ච ඒවා තමයි දැන් බොහෝ කොටම එන්නෙ. ස්වභාවිකද නැත්ද කියල හොයාගන්න ක්‍රමයක් නෑ. ඉතිං විස නැති, ලෙඩ නොකරන තිරිඟු පිටි හොයාගන්න විදිහක් නෑ. ඒ තවත් කාරණයක්.



ඊළඟ ප්‍රධානම කාරණය තමයි පාන් පිටිවල අඩංගු ග්ලූටන් කියන සංයෝගය. ග්ලූටන් කියන නමින්ම කියවෙන විදිහට ඒක එක්තරා ගම් වර්ගයක්. ඒ කියන්නෙ ඇලෙන සුළු සංයෝගයක්. මේ ඇලෙන සුළු ස්වභාවය නිසාම තමයි අලවන පාප්ප හදන්න පාන් පිටිම යොදා ගන්නෙ. එහෙම නැතිව කවදාවත් හාල් පිටි, කුරක්කන් පිටි හෝ බඩ ඉරිඟු පිටි යොදාගෙන පාප්ප හදන්නෙ නෑ. මොකද ඒ පිටිවල ඒ විදිහෙ ඇලෙන ස්වභාවයක් නෑ. ඒ කියන්නෙ ග්ලූටන් නෑ. වතුරට දැම්මම අධික ඇලෙන ස්වභාවයක් තියේ නම් ග්ලූටන් හෝ ඒ හා සමාන රසායනික සංයුතියක් තමයි ඒවායේ තියෙන්නෙ. එතකොට මේ ග්ලූටන්වලින් කරන්නෙ මොකක්ද? ආහාරයේ අඩංගු ඇමයිනෝ අම්ල එකිනෙකට බැඳල තියනවා. ඒ ග්ලූටන් බන්ධන ඉතා ශක්තිමත්. ලේසියෙන් කඩන්න බෑ. එතකොට මොකද වෙන්නෙ, ආමාශයේ තියෙන හයිඩ්‍රොක්ලෝරික් අම්ලයට මේ ග්ලූටන් බන්ධන බිඳ දමන්න බැරි වෙනවා. මේ නිසා ඒ ඇමයිනෝ අම්ල බිඳ දැමීමකින් තොරවම කුඩා අන්ත්‍රය කරා යොමු වෙනවා. ඒ ග්ලූටන් බන්ධන සහිත ඇමයිනෝ අම්ල ප්‍රමාණයෙන් විසාල නිසා කුඩා අන්ත්‍රයේ තියෙන පෝෂණ අවශෝෂක විදිහට ක්‍රියා කරන අංගුලිකාවලට ඒවා අවශෝෂණය කරන්න බැරිව යනවා. නමුත් කොහොම හරි දැඩි පරිශ්‍රමයක් දරල ඒ ඇමයිනෝ අම්ල අවශෝෂණය කරන්න යෑමෙන් අංගුලිකා විනාස වෙනවා. ග්ලූටන්වල තියෙන ඇලෙන සුළු ස්වභාවය තමයි ඒකට ප්‍රධාන වශයෙන් හේතු වෙන්නෙ.

දැන් අංගුලිකා විනාස වුනාම ආහාරවල තියෙන පෝෂණ කොටස් ශරීරයට උරාගන්න බැරිව යනවා. මේ නිසා කාලයක් යනකොට පෝෂණ ඌණතාවයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඒ හේතුවෙන් ශරීරයේ ප්‍රතිශක්තිකරණ පද්ධතිය දුර්වල වෙලා දියවැඩියාව, පිළිකාව, වකුගඩු රෝග වගේ විවිධාකාරයේ බෝ නොවන රෝග ඇතිවෙනවා. වගාවට යොදන විස රසායනත් ඒ සඳහා ප්‍රධාන වශයෙන්ම හේතු වෙනවා. අධික වස විස භාවිතය හේතුවෙන් පොළොවේ රස ධාතුවත් මේ වෙනකොට හීන වෙලා තියෙන නිසා දැනට පරිභෝජනය කරන ආහාරවලත් පෝෂණ ධාතුව හීන වෙලා තියෙන්නෙ. ඒ හීන මට්ටමකින් හෝ ලැබෙන පෝෂණයත් මේ ග්ලූටන් කියන සංයෝගය නිසා තවත් අඩු වෙනවා.

දැනට ලෝකයේ ග්ලූටන් අඩංගු ප්‍රධාන ආහාර වර්ග හතරක් තියෙනවා. ඒ තමයි තිරිඟු පිටි (පාන් පිටි), ඕට්ස්, බාර්ලි සහ රයි. මේ හතරෙන් ලංකාවෙ අපිට වැඩිම බලපෑමක් එල්ල වෙන්නෙ පාන් පිටිවලින්. මොකද මේ වර්ග හතරෙන් බහුලවම භාවිතා කරන්නෙ පාන් පිටිවලින් හදපු

ආහාර. මේ හතරෙන් විතරක් නෙවෙයි, සමහර උදවියගෙ දවසේ ප්‍රධානම ආහාරයත් සකස් වෙන්නෙ පාන් පිටිවලින්. විශේෂයෙන් කොළඹ වගේ නාගරික ප්‍රදේශත්, වතු කම්කරුවන් වාසය කරන වතු ආශ්‍රිත ප්‍රදේශත් ගත්තම ඒ ප්‍රදේශවල ජනතාව උදේටයි, රෑටයි දෙකටම ගන්නෙ පාන් පිටිවලින් හදපු ආහාර. උදේට පාන් පිටිවලින් හදපු සැන්ඩ්විච් පාන්, බනිස්, එළවළු රොටී, රෝල්ස්... ආදී විවිධ නම්වලින් හඳුන්වන පිට ඔපය විතරක් තියෙන ආහාර නාගරික ප්‍රදේශවල බහුලයි. පාසල් ළමයින්ට පවා උදේ ප්‍රධාන ආහාරය විදිහට දෙන්නෙ මේ වගේ පාන් පිටිවලින් හදපු ආහාර. ඊළඟට රෑටත් කොත්තු, පරාටෙ, පීසා... ආදී වශයෙන් හඳුන්වන පාන් පිටිවලින් හදපු ආහාර තමයි ගන්නෙ. හුඟක් අය ඒ ආහාරවලින් පසු බොන්නෙත් වතුර නෙවෙයි, වාණිජ වශයෙන් ප්‍රසිද්ධ කාබනික් අම්ලය යොදාගෙන හදපු කෘතිම රසකාරක, වර්ණකාරක යොදපු බීම වර්ග. **සමහර නිෂ්පාදකයො ඒවා ප්‍රචාරණය කරන්නෙත් ''... සමග මරු'' කියල. කතාව නම් ඇත්ත. ඔය වගේ පාන් පිටි ගුලි ගිලල ඒ වගේ කාබනික් අම්ලය යොදාගෙන හදපු කෘතිම පැණි බීම බිව්වම ඉක්මනට මරු වැළඳ ගන්න පුළුවන්. කට බොරු කිව්වත් දිව බොරු කියන්නෙ නෑ කියන්නෙ ඕකට තමයි.**

ඉතිං මේ ආහාර අපේ රටේ තිබ්බ්ච ආහාර නෙවෙයි. විදෙස් ආක්‍රමණවල ප්‍රතිඵලයක් විදිහට අපට බලහත්කාරයෙන් පටවපු ආහාර. අපේ හිටපු පැරැන්නො ඔය වගේ පාන් පිටි ගුලි ගිල්ලෙ නෑ. තුන් වේලටම කෑවෙ බත්, කුරක්කන්, කොස්, අල, බතල, මුං ඇට වගේ දේශීය ආහාර. ඒවායේ කිසිම අහිතකර ස්වභාවයක් තිබුනෙ නෑ. ශරීරය ශක්තිමත් කරන කායික මානසික නිරෝගීතාවය පවත්වන ආහාර. ඉතිං පිටරටින් එන ඕනම කුණු කන්දක් බාර ගන්න තත්ත්වයට පත්වෙච්ච අපිට දැන් සිද්ධ වෙලා තියෙන වින්නැහිය තවමත් තේරුම් ගන්න බැරි වෙලා තියෙන එකයි ගැටළුව.

ඉතිං මේ ග්ලූටන් සහිත ආහාර අනුභවය නිසා ශරීරයට ආහාර අවශෝෂණය කරන්න ගිහින් අනවශ්‍ය ආයාසයක් යොදන කොට ඊට අදාළ හෝමෝන ක්‍රියාකාරීත්වයත් වෙනස් වෙනවා. ඊට පස්සෙ කාලයක් යද්දී මාරාන්තික ලෙඩ රෝග හැදෙනවා.

හැබැයි මේ පාන්පිටිවල ග්ලූටන් ප්‍රතිශතය ඉතා ඉහළ අගයක් අරගෙන තියෙන්නෙ ඒවායේ තියෙන ස්වභාවික පැහැය නිවුඩ්ඩත් එක්ක ඉවත් කරල සුදු පාට කිරීම නිසා. මොකද ස්වභාවික කහ පැහැය තියෙන්නෙ නිවුඩ්ඩත් එක්ක තියෙනකොට. ඒ කියන්නෙ කෙඳි සහිතව තියෙනකොට. එතකොට ග්ලූටන්වලට හරියට ක්‍රියාත්මක වෙන්න බෑ. මොකද කෙඳි වැඩියි. ඇලෙන ස්වභාවය අඩු වෙනවා. නමුත් නිවුඩ්ඩ ඉවත් කළාම අක්‍රීයව තියෙන ග්ලූටන් ඉතා ඉහළ අගයකින් ක්‍රියාත්මක වෙනවා. එතකොට මේ ස්වභාවිකව තියෙන නිවුඩ්ඩ ඉවත් කරල සුදු කරන්න ගිහින් තමයි පාන් පිටිවල ග්ලූටන් වැඩි කරගෙන තියෙන්නෙ. මොකද ග්ලූටන් තියෙන්නෙ තිරිඟු ඇටය ඇතුලෙ මිසක් පිට නිවුඩ්ඩෙ නෙවෙයි.




සාමාන්‍යයෙන් ඕනම ධාන්‍ය වර්ගයක නිවුඩ්ඩ තමයි හුඟක් ගුණ. ඒකෙන් තමයි විටමින් ඇතුළු පෝෂණය සපයන්නෙ. නමුත් අර විදිහට සුදු පාටට කැමති විඤ්ඤාණයක් හදාගෙන තියෙන නිසාත්, ඒ නිවුඩ්ඩ ඉවත් කරල ඒකෙන් මෝල්ට් වගේ වෙනත් වෙළඳාම් කරන්න යෑම නිසාත්, නිවුඩ්ඩ සහිතව එන ස්වභාවික තිරිඟු නිවුඩ්ඩ ඉවත් කරල අන්තිමට රොඩ්ඩ විතරක් කන්න ගන්නවා. කහ පාට කියන්නෙ ඒ නිවුඩ්ඩ. සුදු පාන් පිටි කියන්නෙ රොඩ්ඩ. ඉතිං පෝෂණය වැඩි කොටස වෙනම ඉවත් කරල ඉතිරි වෙන රොඩ්ඩ තමයි අපිට එන්නෙ. හැබැයි ඇමරිකාව, එංගලන්තය වගේ රටවල් ගත්තම ඒ අය ආහාරයට ගන්න පාන් පිටිවල බොහෝ කොටම අර ස්වභාවික පැහැය නිවුඩ්ඩත් එක්ක තියෙනවා. ඒ අය ඒක ඉවත් කරන්නෙ නෑ. එහෙම නැත්නම් ඒ අයගෙ පරිභෝජනයට විස රසායන එකතු නොකර වෙනම වගා කරනවා. ඒ නිසා තුන් වේලටම පාන් පිටි මිශ්‍ර ආහාර ගත්තත් ඒ අයට අපිට තරම්ම ලෙඩ රෝග නෑ. ඒක තමයි මේ වෙනසට හේතුව. ඒ කහ පැහැයට තියෙන නිවුඩ්ඩ සහිත පිටි තමයි ඒ කාලෙ ආටා පිටි කියල විකුණුවෙ. ඒක නිකං පාන් පිටිවලට වඩා ගුණයි. හැබැයි මිල වැඩියි. ඒ වුනත් අර විදිහට ජාන විකෘති කරල පූර්ණ වල් නාශක යොදනකොටත්, කල් තබා ගැනීමේ කාරක එකතු කරනකොටත් හානි කරයි. නමුත් සුදු පාට නොකිරීම නිසා පාන් පිටිවලට සාපේක්ෂව හොඳයි.

හැබැයි ආට පිටි කියල දැන් රැවටීමක් තමයි කරන්නෙ. මොකද ඉන්දියාවෙන් ගෙන්වන 3 වන ශ්‍රේණියේ භාවිතයට නොගන්න පිටි වර්ග තමයි ලස්සනට ඇසුරුම් කරල අපිට එන්නෙ. එහෙම නැතුව මූලික මට්ටමේ ආට පිටි නෙවෙයි. පාන් පිටිවලට වඩා පොඩ්ඩක් හොඳ වුනත් ඒකෙත් 100% ක් හොඳ පෝෂණ කොටස් නෑ. ඒ හොඳ කොටස් ඒ අය වෙන් කරගෙන ඉතිරිය තමයි අපිට එවන්නෙ.

කාලයක් මිනිස්සු ආටා පිටිවලින් චපාති හදල කෑවා. ඒකෙත් ග්ලූටන් යම් කිසි ප්‍රමාණයක් තිබුනා. හැබැයි අර තරම් නෑ. ඒ වගේම ඒවා කෘතිමව සුදු පාට කළෙත් නෑ. ඒ නිසා පාන් පිටිවල තියෙන හානිකර ස්වභාවය ඒවායේ තිබුනෙ නෑ. බාර්ලි, ඕට්ස් වගේ ඒවායේ ග්ලූටන් තිබුනත් සුදු කරපු පාන් පිටිවල තරම් නෑ. අනෙක ඒවා අපේ රටේ ජනතාව ඒ තරම් පරිභෝජනය කරන්නෙත් නෑ. ඒ නිසා දැන් තියෙන ලෙඩ රෝගවලට ප්‍රධානම කාරණයක් තමයි මේ කෘතිමව සකස් කරපු පාන් පිටිවලින් හදපු ආහාර පරිභෝජනය. මොකද වස විසට අමතරව ප්‍රධාන වශයෙන්ම ආහාර දිරවීමේ ප්‍රශ්නයක් තමයි ඒකෙ තියෙන්නෙ. ඒ කාරණය දැන් වෛද්‍ය විද්‍යාවෙනුත් හොයාගෙන තියෙනවා. ඒ වීඩියෝ දර්ශන පවා කෙනෙකුට අවශ්‍ය නම් අන්තර්ජාලයෙන් බලන්න පුළුවන්. (Youtube - Science: A Closer Look at Gluten)

ඊළඟට කෘතිම රසායන සංයුතීන් එකතු කිරීමත් පාන් පිටිවල ඇලෙන ස්වභාවය වැඩිවෙන්න හේතු වෙලා තියෙනවා. ඉස්සර හිටපු අම්මල පාන් පිටිවලට වතුර දාල පොල් රා වගේ ස්වභාවික දෙයක් එකතු කරල පිපෙන්න තියනවා. ඒකෙන් තමයි මොනව හරි කන දෙයක් හැදුවෙ. නමුත් දැන් කෘතිම පිපුම් කාරක දාල තමයි ඒ වැඩේ කරන්නෙ. ඒකෙන් ඇලෙන ස්වභාවය තියෙන තවත් සංයෝග හැදෙනවා.

ඉතිං මේ කෘතිම රසායන

එකතු කිරීම නිසා පාන් පිටිවල ග්ලූටන් විතරක් නෙවෙයි, ඇලෙන සුළු තවත් රසායන ගණනාවක් හැදෙනවා. කාලයක් යද්දි මනුස්සයගෙ මොළය ඒ රසායනවලට ඇබ්බැහි වෙනවා. හරියට මත්පැන්වලට ඇබ්බැහි වෙනව වගේ. ස්නායු ඒ රසායනවලට හැඩ ගැහෙනවා. ඊට පස්සෙ ඉතිං පාන් පිටිවලින් හදපු ආහාර නොකා ඉන්න බැරි තත්ත්වයක් එනවා.

දැන් මේ සියළු කාරණාවල ප්‍රතිඵලයක් විදිහට මතුවෙලා තියෙන ආබාධ ඒ යුරෝපා, ඇමරිකා රටවල සමහර ජනකොටස් වලටත් යම් මට්ටමකට බලපාල තියෙනවා. ඒ සම්බන්ධයෙන් ඒ අය තොරතුරු පවා එළි දක්වල තියෙනවා. හැබැයි ඒ අනුන් ගැන තියෙන අනුකම්පාවට නෙවෙයි, තමන්ගෙ අයටත් බලපාල තියෙන නිසා. ඒ අයත් මේ විනාසයට වග කියන්න ඕන කියල මතයක් ආවම තමයි ඔය වාර්තා එළි දක්වන්න ගත්තෙ. විශේෂයෙන් අලුතින් ඉපදෙන ළමයින්ට ඔටිසම් කියන රෝගී තත්ත්වයත්, පොදුවේ අනෙක් අයට හෘදයාබාධත් ඇතිවෙන්න හේතු වෙන බව සොයාගෙන තියෙනවා. ඔටිසම් කිව්වම, ළමයි ශරීරයෙන් හොඳට පිටින් පේන්න හැදුනට පරිකල්පනා ශක්තිය, තාර්කික ශක්තිය අඩුයි. නිකං ඔහේ බලාගත්තු අත බලාගෙන ඉන්නවා. මානසිකත්වය වැඩීම අව මට්ටමක තියෙන්නෙ. මේ ඔටිසම් කියන රෝග තත්ත්වයට ප්‍රධාන හේතුවක් තමයි කෘමි නාශක, වල් නාශක ඇතුළු විස රසායන. ඒකෙන් ඥාන ශක්තිය, සිතීමේ ශක්තිය අඩු වෙලා නිකං මෝඩ ජනතාවක් තමයි ඉදිරියට බිහි වෙන්නෙ. ඇමරිකාව ගත්තොත් 2000 වසරෙදි ළමයි 150 කට එක්කෙනෙකුට තමයි ඔටිසම් රෝගය තිබුණෙ. හැබැයි දැන් ඒ අනුපාතය 68 : 1 දක්වා වැඩි වෙලා තියෙනවා. ඒ කියන්නෙ පසුගිය අවුරුදු 16 ට 119.4% කින් වැඩි වෙලා තියෙනවා. ඒ අයට ඇතිවෙලා තියෙන බලපෑම ඒකෙන්ම හිතාගන්න පුළුවන්.

දැන් ඉතිං ලංකාවෙ ආහාර ගත්තොත් පාන්, බනිස්, රෝල්ස්, කට්ලට්, රොටි, කොත්තු, පරාටෙ, බිස්කට්, කේක් වර්ග... ආදී මේ සියල්ලටම මූලික වශයෙන් යොදා ගන්නෙ ඔය විදිහට කෘතීමව හදන පාන් පිටි. වස විසවලට අමතරව මේ හැම ආහාරයක්ම ඒ විදිහට බැඳිල හැදිල තියෙන්නෙ ග්ලූටන් නිසා. ඒ නිසා තමයි හාල් පිටිවලින් ඒ වගේ ආහාර පහසුවෙන් හදන්න බැරි. හැදුවොත් කැඩෙන්න බලනවා, ඇල්ලල හිටින්නෙ නෑ. එතකොට මිනිස්සු වැඩියෙන්ම ඇබ්බැහි වෙලා තියෙන්නෙත් මේ කියන ආහාරවලට. සාදයක් තිබුනත් අපේ ඉස්සර තිබ්බිච සිංහල කෑම නෙවෙයි, මේ කියන ක්ෂණික කෘතීම ආහාර වර්ග තමයි යොදා ගන්නෙ. දවසකට ඔය වගේ ආහාර කොච්චර නම් ප්‍රමාණයක් අපේ ආමාශවලට යනවද? එතකොට දවස ගානෙ එකතු වෙලා අවුරුදු ගණනාවක් යනකොට මේ කෘතීම රසායන යොදල හදන පාන් පිටිවලින් ශරීරයට සිද්ධ කරන විනාසය කොච්චරද?

එහෙනම් මේ සඳහා දැනට තියෙන එකම විකල්පය තමයි මේ ගැන දැනුවත් වෙලා දැන් තියෙන පාන් පිටි පරිභෝජනය නවත්වල අපේ පැරණි හාල්, අල, බතල, ධාන්‍ය වගේ දේවල් ආහාරයට එකතු කර ගැනීම. ඒකෙන් ඉදිරි අනාගතයෙදිවත් නිකරුනේ ලෙඩ රෝග වෙනුවෙන් නාස්ති කරන මුදල් ඉතිරි කරගෙන තමන්ගෙ යහපත අභිවෘද්ධිය වෙනුවෙන් යොදා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඉතිං මේ ආහාර රටාව දිගටම ගියොත්, ඉපදෙන පොඩි එකාගෙ පටන් මහල්ලා දක්වාම රෝහල් ගානෙ පෝලිම් ගැහෙන්න තමයි සිද්ධ වෙන්නෙ. එතකොට ඉතිං මුළු ජීවිත කාලයටම වෙන වැඩක් කරගන්න බෑ, රෝහල් ගානෙ රස්තියාදු වෙන්න තමයි සිද්ධ වෙන්නෙ. හැබැයි ඒ රස්තියාදු වුනත් දැන් තියෙන ආහාර පරිභෝජන රටාව නවත්වන කල් ඒකට විසඳුමක් එන්නෙ නෑ. මොකද ඒකෙන් එන ලෙඩ රෝගවලට බේත් නෑ.

ඒ නිසා මේ මහ පොළොවෙ ඇහැට කනට පේන්න ස්වභාවිකව වැවෙන හැදෙන දෙයක් ආහාරයට ගන්න පුරුදු වෙන්න ඕන. ඉතිං දැන් තියෙන තිරිඟු ස්වභාවිකව හදන ඒවා නෙවෙයි. කෘතීමව ජාන විකෘති කරල විස ගහල තමයි වගා කරන්නෙ. අන්තිමට වගා කරල ගන්න අස්වැන්නෙ පටන් පරිභෝජනයට එන කල්ම කෘතීම රසායන එකතු කරනවා. ඒ නිසා අපි ආහාරයට ගන්න ඕන අපිට ගැලපෙන දේවල්.

හැබැයි පාන් පිටි සම්බන්ධයෙන් මේ කියන සෘණාත්මක කරුණු නිසා, මීට පෙර 41 වන කලාපයෙන් හෙළිදරව් කළ ''අහක දාන පාන් ලෙල්ලෙන් වටිනා ඖෂධයක්'' කියන මාතෘකාව යටතේ ඉදිරිපත් කළ කරුණු එක්ක ගැටීමක් ඇති කරගත යුතු නෑ. මොකද එතනදි පෙන්වා දුන්නෙ, පැරණි ක්‍රමයට දර පෝරණුවෙ පුච්චන පාන්වල පිට පොත්තෙ යම් කිසි ඖෂධීය සංයෝගයක් ඇති වෙන බව. එතනදි ස්වභාවිකව යම් කිසි ක්‍රියාදාමයක් සිද්ධ වෙලා පාන් පිටිවල තියෙන ග්ලූටන් අභිබවා ගිහින් ඖෂධීය ගුණයක් සහිත සංයෝගයක් නිපදවීම තමයි සිද්ධ වෙන්නෙ. ඒ නිසා තමයි ඒ ඖෂධීය ගුණය දර පෝරණු පාන්වල හැර අනෙක් පාන්වල නැත්තෙ. ඒ ඖෂධීය රසායනයත් හැදෙන්නෙ පාන් ලෙල්ලෙ විතරයි. ඉතිං ඕනම දෙයක තියෙන අහිතකර ස්වභාවය ඉවත් කරල ඖෂධයක් බවට පත් කරගන්න පුළුවන් එහෙම ක්‍රම තියෙනවා. නියගලා වුනත් ඖෂධයක් විදිහට පාවිච්චි කරන්න පුළුවන් කියන්නෙ ඒකයි. ඒ නිසා මේ කාරණා දෙක පටලවා ගත යුතු නෑ. නමුත් ඉතිං විස රසායන ගහල හදන පාන් පිටිවලට නම් කරන්න දෙයක් නෑ. ඒ නිසා ප්‍රශ්නය තියෙන්නෙ පාන් පිටිවල නෙවෙයි, ජාන විකෘති කරල කෘතීම රසායන සංයෝග යොදල සකස්කිරීම.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895



# මොළය ආශ්‍රිත රෝග රැසකට ප්‍රත්‍යක්ෂ වටිනා ඖෂධ කිහිපයක්...

## මොළේ අමාරුවට හා කල්පනාව අඩුකමට

පටිසන්ධියෙන් එන කර්මජාබාධ හැර බාහිර පරිසරයෙන් සහ කන බොන ආහාර ආදියේ ඇති වස විස වගේ ප්‍රයෝග විපත්තීන් නිසා ඇති වන විවිධාකාරයේ මොළයේ අමාරුකම්, කල්පනාව අඩුවීම අද වෙනකොට බහුලව දකින්න තියෙන රෝගී තත්ත්වයක්. වයසට යාමත් සමග කල්පනා ශක්තිය අඩුවීම සාමාන්‍ය දෙයක් වුණත්, විවිධාකාර බාහිර හේතූන් මත වයසින් අඩු අයටත් කල්පනා ශක්තියේ අඩුවක් තියේ නම් ඒක එක්තරා රෝගී තත්ත්වයක්. අන්න ඒ වගේ අයට කිසිදු භේදයකින් තොරව, කිසිදු අතුරු ආබාධයකින් තොරව, වැඩි වියදමක්, මහන්සියක් නැතිව හදාගන්න පුළුවන් ප්‍රත්‍යක්ෂ ඖෂධයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී කරන ලද සමාධිමය ප්‍රතිකාර වලට හසු වූ මේ ඖෂධයත් අද කාලයේ බොහොම වටිනාකමක් තියෙන ඖෂධයක්.

මේ සඳහා පහත අමු ද්‍රව්‍ය අවශ්‍ය වෙනවා. තලපිති ඉස්ම පත 1/2 ක්, සූදුරු පත 3/4 ක්, අමු නෙල්ලි ග්‍රෑම් 20 ක්, නා දළු දෙමිටක්, මී පැණි අවුන්ස 1/2 ක් සහ කුඹු ඇඹිල්ල කොළ. මෙතනදි තලපිති කියන්නෙ යාපනය වගේ ප්‍රදේශවල වැවෙන තල් ගහේ පිති නෙවෙයි. තල් ගහේ පිත්තෙ ඒ වගේ ඉස්ම නෑ. මේ කියන්නෙ තෙත් කලාපවල පවා වැවෙන තල මල පිපෙන ශාකය. ඒ තල ගහේ අතු තමයි වටාපත්, වේලාපත්කඩ... ආදිය හදන්න ගන්නෙ. ඒ තල ගහේ පිත්තෙ ඉස්ම හොඳට තියෙනවා.

පළමුවෙන්ම සූදුරු, තලපිති ඉස්මෙන් අඹර ගන්න. ඊළඟට අමු නෙල්ලි, ඇට ඉවත් කරල කොටාගෙන උණු දියෙන් මිරිකල ඉස්ම පත 1/2 ක් අරගෙන, නා දළු දෙමිටත් අඹර ගෙන මේ සියල්ලම එකට එකතු කරල මඳ ගින්නෙ හිඳගන්න. නිවුනට පසු මී පැණි අවුන්ස 1/2 ඒකට මිශ්‍ර කරගන්න. කිසිම අවස්ථාවක රස්නෙ තියෙද්දි මී පැණි එකතු කරන්නෙ නෑ. මොකද මී පැණි රත් වුනොත් සයනයිඩ් කියන විස හැදෙනවා.

මේ විදිහට හදා ගත්තු මිශ්‍රණය ඉන්පසු ගුලි කරන්න පුළුවන් පදමට අරගෙන තිබ්බටු ගෙඩි තරම් ප්‍රමාණයට ගුලි හදල උදේ, දවල්, හවස, රාත්‍රී වරකට ගුලි 1 බැගින්, කුඹු ඇඹිල්ල කොළ තම්බපු වතුරෙන් නිවුනට පසු බොන්න ගන්න. හරියට මාස 1 ක් නොකඩවා මේ විදිහට පාවිච්චි කිරීමෙන් මොළේ අමාරුව, කල්පනාව නැතිකම, ලේ දූෂ්‍ය වීමෙන් හට ගත් මුත්‍රා අමාරුව දුරුවෙන්න හේතු වෙනවා.

## මොළ විරේකයක්

ශරීරයේ අනෙකුත් ඉන්ද්‍රියන් වගේම මොළයෙත් වා, පිත්, සෙම් විස වීමෙන් අපද්‍රව්‍ය බැඳෙනවා. ඉස්සර නම් මොළයේ බැඳිච්ච අපද්‍රව්‍ය ඉවත් කරන්න මොළ විරේකය කියල වෙනම ප්‍රතිකාර ක්‍රමයක් හෙළ වෙදකමේ තිබුණා. නමුත් දැන් ඒ ක්‍රමවේද යට ගිහින්. බටහිර වෙදකමේදි මේ සඳහා ප්‍රතිකර්ම නෑ. වේදනා නාශක වගේ බෙත්වලින් යටපත් කිරීමක්, ප්‍රතිඔක්සි-කාරක මගින් තාවකාලිකව පාලනය කිරීමක් කරනව මිසක් ඉවත් කිරීමක් කරන්නෙ නෑ. මේ වගේ අවස්ථාවකදි තමන්ටම කරගන්න පුළුවන් සාමාන්‍ය මොළ විරේකයක් තමයි මේ.

මේ සඳහා අවශ්‍ය වෙන්නෙ සුදු ඇණූ, රතු ඇණූ, හරන්කහ අල, අළු කෙසෙල්බඩ ඉස්ම. මේ හැම එකකින්ම පත බාගය බැගින් අරගෙන ඒකට මී තෙල් සහ තල තෙල් දාල ලිපේ තියල කර කරගන්න. මෙතනදි මී තෙල් සහ තල තෙල් දාන්න ඕන නියමිත ප්‍රමාණයක් නෑ. සාමාන්‍යයෙන් තෙල් හඳාගන්න පුළුවන් ප්‍රමාණයට තෙල් වර්ග දෙකෙන්ම සම සමව දැම්මම ඇති. ඒ වගේම රත් කරගන්න ඕන විශේෂ අවස්ථාවක් නෑ. සාමාන්‍යයෙන් තෙල් මට්ටමට ආවම බාගන්න පුළුවන්. ඒ විදිහට හදාගත්ත තෙල දවසට දෙපාරක් හිස ගැල්වීමෙන් හිසේ වේලෙමින් තිබිච්ච සෙම ඉවත් වෙලා සුවය ලැබෙනවා. මේ මොළ විරේකය සාමාන්‍ය අවස්ථාවලදි පාවිච්චි කරන්න පුළුවන් සරල මොළ විරේකයක් විතරයි.

## හිසේ සෙම පහ කිරීම සඳහා

විශේෂයෙන් හිසේ තියෙන සෙම පහ කිරීම සඳහා යොදා ගන්න පුළුවන් තවත් ඖෂධයක් තමයි මේ. මේ සඳහා අවශ්‍ය වෙන්නෙ, උළුහාල්, සුදු ඇණූ කලං 4 බැගින් සහ කෝමාරිකා පිත්තේ ඉස්ම, තල තෙල්, එඬරු තෙල්, මී තෙල් කියන මේවා පත 1 බැගින්. මේ සියල්ලම එකට දමා සිඳගෙන එන තෙල හිසට දැමීමෙන් හිසේ තියෙන සෙම පහ වෙන්න හේතු වෙනවා.

(මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියළු ඖෂධ ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තියට යටත්ව ප්‍රත්‍ය වීම සිද්ධ වෙන බව සලකන්න.)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 63 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ සුචරිත ආරියරත්න මහතා - වලස්මුල්ල ■ එරන්දි ජයකොඩි මහත්මිය ■ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ■ උදිත බණ්ඩාර මහතා සහ නදීකා පියදාස මහත්මිය - පාදුක්ක - රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ බටතුනේ බුදු මැදුර දායක පිරිස - කදුරුවෙල - රු. 6,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු.5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ■ කරුණා ධර්මසේන මහත්මිය, නුවංගි ධර්මසේන මහත්මිය සහ ප්‍රසාද් චතුරංග මහතා - හෝමාගම - රු. 5,000/= ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 4,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,000/- ■ ජී. එල්. කාන්ති විනීතා මහත්මිය - මහ ඉඳුරුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ■ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලුෂි දිසානායක මහත්මිය - ඔස්ට්‍රේලියාව - රු. 2,000/- සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 2,000/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා - හසලක - රු.1,800/- ■ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,570/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 1,100/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු.1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ■ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ■ අසංක සෙනරත් අඹගල මහතා - ජපානය - රු. 1000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - ඇඹුල්දෙනිය - රු. 1000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1000/- ■ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ■ තිසර ශානක කරස්නාගොඩ මහතා - කලගෙඩිහේන - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ ඩබ්. ඒ. මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුනිකා ප්‍රේමතිලක දුව - රදාවාන - රු. 1,000/- ■ ක්‍රිශාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ජීවනී ජයසිංහ මහත්මිය, එරන්දිකා ශිවන්ති මහත්මිය - මහරගම - එකතුව - රු. 4,300/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 170,770/- ■ පළමු පිටපත් 12000 සඳහා මුද්‍රණ වියදම රු. 262,800/- ■ අනෙකුත් වියදම් - 15,260/- ■ සම්පූර්ණ වියදම - රු. 278,060/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මගුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (31) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (32) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙ දර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 (33) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (34) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - අංක 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (35) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# තිසරණ මිස
# අන් සරණක් නම් නැත

කරමින් තිරිසන් කටයුතු ලෝ සත
පතමින් සුගතිය පෙන්වා හොඳ හිත
වඳිමින් පුදමින් යයි පුද බිම් වෙත
ගුණයෙන් දහමින් නම් හරයක් නැත

නොපනත් කම් කරමින් ලෝ සත වෙත
සැපවත් කර තම ජීවන මං පෙත
පැතුවත් පැතු සම්පත් ලැබුනේ නැත
අදවත් සිත යොමවනු දම් මග වෙත

නොනිමෙන පැතුමන් තබමින් ලොව මත
නොමවන සසරක පැමිණෙති ලෝ සත
අසරණ තුන් ලොව සියළු සතුන් වෙත
තිසරණ මිස අන් සරණක් නම් නැත

ඇසුවත් නෙක අයුරින් දම් බණ පද
පැතුවත් පුරවා නෙක පැතුමන් හද
හදවත් දම් මග වෙත යොමු නොම වෙද
සුළුවත් දිනුමක් නැත ලෝ සත ලද

අරගත් දම් මග පිළිපැද නිසියෙන
දිලුනොත් හදවත් පිරි දම් එළියෙන
සිටියොත් මෙත් සිත පතුරා දසතින
සුවපත් වෙයි අජරාමර නිවනින

පබැඳුම - වලස්මුල්ලේ සුචරිත ආරියරත්න



# එනවා යනවා පමණයි...

පුරවන විට අඩුව සැප ලෙස දැනෙන පස
හර ඇති ලෙසට ගත් මායාවකිය විස
තිර නැත අඩුව යළි එයි දුක දැනෙන ලෙස
තොර කළ නොහැක එය නියමෙකි නොමැති
රස

කනවා බොනව බඩගිනි විට එගිනි නිවේ
පිනවා තබා රිසි ලෙස පවතිනව නොවේ
තනවා තියෙන හැම දේමත් මෙලෙස ගෙවේ
එනවා යනව පමණකි නැත පිරෙන සුවේ

සැනසුනා කියා සිතුවට මොහොතකට
වැනසුනා යළිදු වෙහෙසෙයි සුවයකට
දනවනා වෙහෙස නොතකා ලබන තුට
ගෙන දෙනා දවස නැත ලොව කිසිවෙකුට

පෙරත් මේ ලෙසයි ලැබු අත්බැව් ගෙවුනේ
මළත් ඔය ටිකයි පර ලොව සිට කෙරුනේ
මතුත් නැත වෙනස කා හට දැයි දැනුනේ
වසොත් තුන් භවේ නැත සැපයක රැඳුනේ

අපමණ සසර තිරිසන් දෙව් මනු වීලා
කොපමණ විඳෙව්වද මේ සැප දුක දීලා
නොපැමිණ පිරුණු තැනකට අද වැළපීලා
එපමණ තවත් කල් යනවද රැවටීලා?

බහුලව කරපු පව් කඳ යට නොදැන ඉඳ
යහළුව ලොවට සැප සම්පත් යදිති අද
මහළුව ගියත් තව නැත කුණු කිළුටු බිඳ
පහළව තියෙයි මතු භවයද ලෙසට අඳ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1063 Rs.25.00
Hela Bodu Piyuma 63

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී